සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2563 ක් වූ පොසොන් මස (ව්‍යවහාරික වර්ෂ 2019 ජූනි)

94 වෙනි කලාපය

## අට අනූවක් රෝග දුරලන, සමාධියට නැගී ආ

# බලගතු ඇර්ෂ්ටයක්...

රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# සමඟිය බලය වේ...

මිනිසුන් ලෙස ඉපිද නොමිනිස් ගති  දරණ
උගතුන් යයි කියන අබැටක් නැති  නුවණ
මරණින් මතු කුමක් වෙද නොසොයන  බලන
පව්ටුන් පිරි බවකි රට විපතෙහි  හෙළන

දරා වයිර සිතිවිලි හදවත  පිරුණු
මරා ගෙන මැරෙති ඇයි මෙපමණ  දරුණු
පුරා තිස් වසක යුද සටනෙහි  ගැටුණු
ගරා වැටුන රට කෙළෙසද ගොඩ  නගනු

කුල මල ජාති ආගම් ඇති නැති  බේද
සළ කනු කුමට සමගිය බලයකි  යෝද
කොල හල කරනු කිම දුරලමු මත  වාද
කැළ ඕලි අප රටේ එපරිදි නිම  වේද

නෑකම හැකි කමයි සුහදව  විසීමට
ආගම ඇවැසි වෙයි යහ ගුණ  වැඩීමට
ඒ හැම පිහිට වෙයි පර ලොව  දිනීමට
වෑයම දරනු ඇයි අනිකෙකු  නැසීමට

ඇදහිය නොහැකි ලෙස රටකට කරපු  වින
ඉවසිය හැකිද අප ඉපදුන මැරෙන  තැන
සමගිය බලය වේ එවදන සිතට  ගෙන
ඉදිරිය ගැන සිතනු රට වැසි සියලු  දෙන

පිරිසිඳ බුදු නැණින් බඹ සුර නර  හමුවේ
මුල මැද නිමල දහමකි බුදු හිමි  දෙසුවේ
බණ පද එහි අරුත දැන සැම දෙන  පොදුවේ
නැණ මඳ පව්ටු සිතිවිලි බිඳ හළ  යුතුවේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම 09

ප්‍රසුගිය කලාපයෙන් දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය ගැනත් අරි අටඟි මගේ පළවෙනි හංගය වන සම්මා දිට්ඨීය ගැනත් විස්තර කළා. මේ ලිපියෙන් විස්තර කරන්නෙ අරි අටඟි මගේ අනෙක් හංග පිළිබඳව සැඟවුනු දහම් අරුත්.

සම්මා දිට්ඨීයෙන් පසු ඊළඟ මාර්ග හංගය වන සම්මා සංකප්ප ගැන අද පෙන්වන්නෙ යහපත් කල්පනාව, හරි කල්පනාව, නිවැරදි කල්පනාව කියල. නමුත් මේ කාරණා ටික මෙහෙම කිව්ව පළියට සම්මා සංකප්ප කියන මාර්ග හංගය ගැන නිවන් දකින්න අවශ්‍ය විදිහට හරියාකාර අවබෝධයක් මෙච්චර කාලයකට ලැබුනද? <u>මහා චත්තාරීසක සූත්‍ර දේශනාව</u> අනුව තේරුම් ගන්නකොට, සැකයක් නැතිව හරියටම මේ ගැන දැනගන්න පුළුවන්.

ඒ අනුව, මිච්ඡා සංකප්ප මිච්ඡා සංකප්ප විදිහට දැනගන්නවා, සම්මා සංකප්ප දෙයාකාරයි කියල දැනගන්නවා. එකක් කෙළෙස් සහිතයි, සුගතියට සසර ගමනට හේතු වෙනවා, අනික ලෝකෝත්තරයි, නිවනට හේතු වෙනවා කියල දැනගන්නවා. ධර්මානුකූලව සම්මා සංකප්පය ගැන හරියාකාර වැටහීමක් ඇතිවෙන්න මේ කාරණා ටික විග්‍රහ කරල දැනගන්න ඕන.

මොනවද මිච්ඡා සංකල්ප? කාම සංකල්පනා, ව්‍යාපාද සංකල්පනා, විහිංසා සංකල්පනා කියල මිච්ඡා සංකල්ප 3 ක් තියෙනවා. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මේ පංච කාමය පිළිබඳ වූ කාම දුශ්චරිතයන් පිළිබඳව සංකල්පනා ඇති කරගන්නවා. ඒ වගේම අනුන්ට හිංගි හිංසා කරමින් තලා පෙලා දමන්න එබඳු වූ සංකල්පනාවන් ඇති කරගන්නවා. ඊළඟට වෛර කරන, ක්‍රෝධ කරන, නින්දා අපහාස කරන, අනුන් පහත් කරන මෙබඳු සංකල්පනා ඇති කරගන්නවා. මේවාට කාම සංකල්පනා, ව්‍යාපාද සංකල්පනා, විහිංසා සංකල්පනා කියල කියනවා. ඒ තමයි නරක පැත්ත හෙවත් පාප පැත්ත. එහෙනම් ඒවායින් මිදෙන හොඳ පැත්ත මොකක්ද?

ඒ තමයි සම්මා සංකප්ප. කලින් සඳහන් කළ විදිහට සම්මා සංකප්ප දෙයාකාරයි. එකක් ලෞකිකයි, අනික ලෝකෝත්තරයි. එහෙනම් නිවනට හේතු වෙන ලෝකෝත්තර සංකල්පනා මොනවද? නෙක්ඛම්ම සංකල්පනා, අව්‍යාපාද සංකල්පනා, අවිහිංසා සංකල්පනා. දැන් මේ ගැන අපිට තෝර ගන්න බැරි පැටලුම් සහගත තැනක් තියෙනවා. මේ කාරණා තුන කියනකොට සම්මා සංකප්ප මාර්ග හංගයේ සූත්‍රාන්තය මේ විදිහට විග්‍රහ කරල පෙන්වනවා. "නෙක්ඛම්ම සංකප්පෝ අව්‍යාපාද සංකප්පෝ අවිහිංසා සංකප්පෝ අයං වුච්චති භික්ඛවේ සම්මා සංකප්පෝ" මහණෙනි, සම්මා සංකප්ප කියන්නෙ මේවයි කියල බුදු පියාණන් වහන්සේ ඔය විදිහට විග්‍රහ කරපු තැනක් අපිට අහුවුනේ නැත්නම්, ලෞකික වූ කෙළෙස් සහිත වූ සසර ගමනට සුගතියට හේතු වෙන සම්මා සංකප්පයට අයිති වෙන්නෙ මොනවද, ලෝකෝත්තර වූ නිවනට හේතු වෙන සම්මා සංකප්පයට අයිති වෙන්නෙ කෙබඳු දහමක්ද කියල තෝරගන්න බැරිව යනවා. ඒ නිසා මේවා හරි හැටි විස්තර සහිතව තේරුම් ගන්න ඕන.

එහෙනම් සම්මා සංකප්ප කියන මාර්ග හංගයේ ලෞකික පැත්තකුත් තියෙනවා. අපි මෙච්චර කාලයක් වඩපු මෛත්‍රී භාවනාවක් තියෙනවා, වෛර නොකෙරේවා, ක්‍රෝධ නොකෙරේවා, හිංසා නොකෙරේවා, අවමන් නොකෙරේවා කියල. ඒ වගේම නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, සුවපත් වෙත්වා, දුකෙන් මිදෙත්වා, නිවන් දකිත්වා කියල මෙහෙම භාවනාවක් අපි කරගෙන යනවා. දැන් මෙහෙම කියනකොට අපි කොයි තරම් දුරට මේ අව්‍යාපාද, අවිහිංසා, නෙක්ඛම්ම සංකල්පනා තුල බැහැගෙන තියෙනවද, ආර්ය මාර්ගයට හෙවත් නිවන් දැකීමට හේතු වෙන ඒ සම්මා සංකප්පය කොතෙක් දුරට දැනගෙන තියෙනවද?

බුදු පියාණන් වහන්සේ පහල වෙන්න පෙරත් ඔය කියන වෛර නොකරන, හිංගි හිංසා නොකරන, ඒ වගේම කාම ලෝකෙ ඇසුරු කරන්නෙ නැතිව යම් කිසි ආකාරයක බ්‍රහ්මචරියා ජීවිතයක් ගත කරන විදිහට වෙන් වෙලා හිටපු පිරිසකුත් ලෝකයේ හිටියා. ඒ අයත් ඔය කියන අව්‍යාපාද, අවිහිංසා, නෙක්ඛම්ම සංකල්පනාවලින්

කටයුතු කළා. හැබැයි ඒවා ලෞකිකයි. මොකද අබුද්ධෝත්පාද කාලයේ ලෝකෝත්තර හෙවත් නිවන් දකින දහම නෑ. එහෙනම් අදත් ලෞකික අදහසකින් ඔය ටික සිද්ධ කරගෙන යනව නම් ඒකත් සම්මා සංකප්පයක් තමයි. නමුත් ලෞකිකයි, කෙළෙස් සහිතයි, සසර ගමනට හේතු වෙනවා. එහෙනම් අපිට නිවන් දකින්න හේතු වෙන ඊට එහා ගිය යමක් කළ යුතු සම්මා සංකප්පය කොහොමද හොයා ගන්නෙ? අව්‍යාපාද, අවිහිංසා, නෙක්ඛම්ම කියන මේ සංකල්පනා ඇතිවෙන්නෙ කොහොමද? එතැනදි තමයි ආර්ය මෛත්‍රිය හෙවත් නිවන් දකින මෛත්‍රිය ගැන දැනගන්න අවශ්‍ය වෙන්නෙ.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන් ආර්යන්ට වෙනම මෛත්‍රියක් තියෙනවද කියල. නමුත් එහෙම තියෙනව කියල මේ සඟරාවෙ 1, 2, 3 කලාපවලින් විස්තරාත්මකව ත්‍රිපිටක සාක්ෂිත් සමග ඉදිරිපත් කරල තියෙන නිසා නැවත කියන්න අවශ්‍ය නෑ. එහෙනම් අව්‍යාපාද, අවිහිංසා, නෙක්ඛම්ම කියන සංකල්පනාවන්ගෙන් යුක්තව ලෝක සත්වයන්ට වෛර නොකරන, ක්‍රෝධ නොකරන, හිංගි හිංසා නොකරන යම් කිසි ලෞකික වූ දයාවෙන් අනුකම්පාවෙන් කටයුතු කරන කෙනෙකුට, කාම - ව්‍යාපාද - විහිංසාවලින් වෙන් වෙලා කටයුතු කරන කෙනෙකුට ඔය කියන සංකල්පනා එනවා. නමුත් නිවන් දකින්න නම් ඒ මට්ටමෙන් කරන්නා වූ සංකල්පනාව මදි. ඒ කරන මෛත්‍රිය මදි. එහෙනම් කොහොමද නිවන් දකින ආර්ය අෂ්ඨාංගික මාර්ගයට අයිති සම්මා සංකප්පය වෙන් කරල දැනගන්නෙ?

"යද නිච්චං තං දුක්ඛං යං දුක්ඛං තදනත්ථා" කියල දහම් ඇස පහල වෙන්න හේතු වෙන දහමක් මුලින් විස්තර කරල දැන ගත්තා. ඒකෙන් යම් කිසි අවබෝධයක් ලබා ගත්තා. ඒ තමයි "යං කිංචි සමුදය ධම්මං සබ්බංතං නිරෝධ ධම්මං ති" කියන අවබෝධය. යම් ධර්මයක් මේ ලෝකයේ පහල වෙනවද, ඒවා නැතිවෙන සුළුයි කියලයි මේ කාරණය අද විග්‍රහ කරන්නෙ. නමුත් ඊට වඩා ගැඹුරු අර්ථයක් මෙතැන තියෙන්නෙ. **මේ ලෝකයේ යම් ධර්මයක් හට ගත්ත නම් ඒවා රවුම් ගහන්න (රෝද කරන්න) වටින ඒවා නෙවෙයි, සැරිසරන්න වටින ඒවා නෙවෙයි.** එතකොට ඇයි නැතිවෙන සුළුයි නොකියා, නිරෝධ ධම්මං කියන එකට එහෙම අර්ථයක් පෙන්නුවෙ? ඡන්ද රාගයෙන් බැඳුනම තමයි ඒ ඒ වස්තූන් අල්ලගෙන හටගත්ත වස්තූන් සමග රවුම් ගහන්නෙ. එහෙනම් අපි නිරෝධ කරන්නෙ මොකක්ද? නැති කරල දමන්නෙ මොකක්ද? ඡන්ද රාගය නැති කළාම, නිරෝධ කළාම ඒවායේ සැරිසරන බලාපොරොත්තුව නැති වෙනවා. එතකොට දැනගන්නවා, ලෝකයේ වටිනා දෙයක් හැටියට අල්ලන්න දෙයක් නෑ කියල. ඇති වීම - නැතිවීම කියන, ඇත - නැත කියන අන්ත දෙකට නොවැටී හරියාකාරව දහම් දකින්න ඕන. ඒ නිසා, සැරිසරන්න වටිනා හරවත් දහම් ලෝකයේ නෑ කියල දැනගත්ත නම් ඒ පුද්ගලයාට මෙහෙම අදහසක් පහල වෙනවා.

මම මෙච්චර කල් මේ ලෝකයාට වෛර කළා නම්, ව්‍යාපාද සිත් පහල කළා නම්, හිංගි හිංසා කළා නම්, යම් කිසි කාම සංකල්පනා ඇති කළා නම්, වටිනා දෙයක් තියෙනවා කියන මුලාව නිසයි එහෙම කළේ. ඒ නිසා මම එකොළොස් ගින්නකින් දැවුනා තැවුනා. රාග ගිනි, ද්වේශ ගිනි, මෝහ ගිනි, ජාති ගිනි, ජරා ගිනි, මරණ ගිනි, ශෝක ගිනි, පරිදේව ගිනි, දුක් ගිනි, දෝමනස්ස ගිනි, උපායාස ගිනි කියන මහා එකොළොස් ගින්නකින් දැවි දැවී තැවි තැවී ආපු ගමනක එන්න යෙදුනෙ, සසර ගමනක් හැදුනෙ, මේ වටිනවා කියන දෘෂ්ටිය නිසානෙ! ඒ මොකක් නිසාද? මේ කියන්නා වූ යථාවබෝධය නොලැබුන නිසා, මේ ලෝකයේ හරයක් තියෙනවා කියන මේ දෘෂ්ටිය නිසා තමයි යම් තරමක් කාම, ව්‍යාපාද, විහිංසා සංකල්පනා ඇති කළේ.

තමන් කාම වස්තු ඇසුරු කරන්න ගිහින් ඒවා වටිනවා කියන දෘෂ්ටියක් ඇති කරගත්තට පස්සෙ, ඒ පිළිබඳව අනුන්ට නොවේවා මටම වේවා කියන මේ අදහස් ඇති කරගෙන, ඒ වගේම අනුන් වනසා දමන බලාපොරොත්තු ඇති කරගෙන, මහා තරඟයකට පොරයකට බැහැල තමයි ව්‍යාපාද සංකල්පනා ඇති කරගත්තෙ. ඒවායින් නික්මෙන්නෙ නැතිව ඒවාම ඇසුරු කරගෙන ඒ තුළම ඉඳගෙන අනුන්ට හිංගි හිංසා කරමින් දුක්ඛිත ජීවිතයක් ගත කරන්න පටන් ගත්තෙ, මේ ලෝකෙ පැවැත්ම තුළ වටිනා වස්තු තියෙනවා කියන දෘෂ්ටිය උඩ. නමුත් මේ ලෝකය තුළ සාරධර්ම වශයෙන්, වටිනා දේවල් වශයෙන් අල්ලන්න දෙයක් නෑ කියල ධර්මානුකූලව දැනගත්තට පස්සෙ, අනේ මොනවා අල්ල ගන්නද, මොකට රාගයේ බැඳෙන්නද, මොකට හිංගි හිංසා කරන්නද, මොනවට මම අනුන්ට දැවීම් තැවීම් ඇති කරන්නද, මේ වැඩක් නැති දේවල්නෙ කියල අදහස් ඇවිත්, අනේ මේ ලෝක සත්වයෝ මම අද සැනසුනා නිවුනා වගේ මේ ලෝකෙ තියෙන්නා වූ දුක් ගිනි දාහයන්ගෙන් නිවිල යථා දහම් අවබෝධ කරනව නම් ඒ අයටත් කොච්චර ශාන්තියක්ද, ඒ ශාන්ත වූ ප්‍රණීත වූ නිවන් සුවය අත් කර ගන්නවා නේද කියල දයානුකම්පාවක් හට ගන්නවා. ඒ තමයි ආර්ය දහම ඇහුවට පස්සෙ ඇතිවෙන වෙනස.

අන්න ඒ ධර්මාවබෝධය ලැබුනට පස්සෙ කාම සංකල්පනා වෙනුවට ඒ සිත් තුළ කාමයන්ගෙන් නික්මෙන නෙක්ඛම්ම සංකල්පනා, ව්‍යාපාද සංකල්පනා වෙනුවට අව්‍යාපාද සංකල්පනා, හිංගි හිංසා කරනවා වෙනුවට අවිහිංසා සංකල්පනා හට ගන්නවා. ලෝක සත්වයාට නිවන් ලැබේවා, නිවන් ශාන්තිය උදා වේවා කියන පරම මෛත්‍රී අධිෂ්ඨානයක් ඇතිවෙනවා. අන්න ඒ මෛත්‍රිය අර කියන්නා වූ නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, සුවපත් වෙත්වා, දුකෙන් මිදෙත්වා, නිවන් දකිත්වා කියල ලෞකික සෙත් පැතීමක් කළාට වඩා මහා ගැඹුරු අවස්ථාවක් නිසා, මේ ධර්මය තුළින් මතු වන්නා වූ උත්තම අවස්ථාවක් නිසා, ඒ සංකල්පීය ස්වභාවයට මානසිකත්වය පත්වෙනවා.

මෙන්න මේ ධර්මාවබෝධය ලැබුව කෙනෙකුට මොන වගේ මානසිකත්වයක්ද එන්නෙ? අසාර ලෝකය තුළ මොනවා අල්ලන්නද? මොන කාමයක් පස්සෙ යන්නද? හිංගි හිංසා කරල මොනවා රැකගන්නද? වෛර ක්‍රෝධ කරල, තරග කරල මොන ජයක් ලබන්නද? මොනවද මේ අසාර ලෝකෙ ගන්න තියෙන්නෙ? අනේ ලෝක සත්වයින්ටත් මේ සත්‍යය වැටහෙනව නම්, ඒ ලෝක සත්වයොත් මේ දැවීමෙන් තැවීමෙන් මිදිල පෙනි පෙනීම සැනසෙනව නේද? මේ අල්ලගන්න මානසිකත්වයෙන් නිදහස් වුනාම කොච්චර සුවද? මෙන්න මේ තත්වය තමන්ටම වැටහිලා ලෝක සත්වයාටත් මේ උතුම් වූ මෙත් ගුණය පතන තත්වයට පත්වෙනවා. එතකොට කියනවා, අප්‍රමාණ මෛත්‍රිය ලෝකයාට පතුරවන තත්වයට පත් වුනා කියල. ඒක ආර්යන්ට හෙවත් යථාවබෝධය ලබපු කෙනෙකුට කරන්න පුළුවන් දෙයක් මිසක් අනාර්ය තත්වයේ ඉඳගෙන කරන්න බෑ. අන්න ඒ තත්වයට පත්වෙච්ච



කෙනාගෙ ඔන්න ඔය ගුණය ආවම සම්මා සංකප්ප මාර්ගය හංගය ලැබුනා කියල කියනවා.

මේ ටික තේරුම් ගත්තම මිච්ඡා සංකප්ප මිච්ඡා සංකප්ප විදිහට දැනගන්නවා. සම්මා සංකප්ප සම්මා සංකප්ප විදිහට දැනගන්නවා. සම්මා සංකප්ප දෙයාකාරයි කියල දැනගන්නවා. එකක් ලෞකිකයි, කෙළෙස් සහිතයි, සසර ගමනට හේතු වෙනවා, අනික ලෝකෝත්තරයි, නිවනට හේතු වෙනවා කියල දැනගන්නවා. මේ ආකාරයෙන් දැනගත්තද ඒකට කියනවා සම්මා සංකප්ප පිළිබඳව සම්මා දිට්ඨිය පහල වුනා කියල. එහෙනම් සම්මා දිට්ඨිය තවත් ඈතට විග්‍රහ වුනා.

ඒ වගේම මිච්ඡා සංකප්පය දුරු කළ යුතුයි, හීන දහම් කියල දකිනවා. සම්මා සංකප්පයන්ගේ ලෞකික වූ කෙළෙස් සහිත වූ සුගතියට, සසර ගමනට හේතු වෙන දහම් සාමාන්‍ය (මධ්‍යම) දහම් කියල දකිනවා. ආර්ය දහමක් (ප්‍රණීත) වශයෙන් ගැනෙන්නා වූ උත්තරීතර වූ අව්‍යාපාද, අවිහිංසා, නෙක්ඛම්මයන්ගේ ධර්මාවබෝධයෙන් ලැබෙන්නා වූ උතුම් ගුණයක් ඇත්ද, ඒක උත්තරීතරයි, ප්‍රණීතයි, නිවනට හේතු වෙනවා කියල දකිනවා. මේ ටික දැනගත්ත තැන් පටන් ඒ පුද්ගලයා සතියෙන් ඉන්නවා. සතිය පිහිටනවා. ඇත්ත දකිනවා. එතකොට කියනවා, සම්මා සංකප්ප මාර්ග හංගය පරිවාර කරගෙන තියෙන සම්මා සතිය කියන්නා වූ මාර්ග හංගය ලැබුනා කියල.

එතැන් පටන් යම් සම්මා සංකප්පයක් පූර්ණ කරගෙන අරිහත්වයට යනකල් පූර්ණත්වයට පත්විය යුතුද, ඒ තාක් කල් නොනවත්වන්නා වූ උත්සාහයක්, වීර්යක් ගොඩනැගෙන්න පටන් ගන්නවා. ඒ ශාන්ත වූ ප්‍රණීත වූ යථාර්ථයේ පිහිටමින් නිවනේ පිහිටමින් වැඩෙන හිතට මේ කියන්නා වූ උත්සාහය වීර්ය නිරන්තරයෙන් නැගෙන්න පටන් ගන්නවා. මේ තත්වය මතු වෙනකොට කියනවා, සම්මා සංකප්පය පිළිබඳ සම්මා වායාමය මතු වුනා කියල.

එහෙනම් සම්මා සංකප්ප මාර්ග හංගය වටා සම්මා සංකප්පය පිළිබඳ යථාර්ථය පෙන්වා දෙන සම්මා දිට්ඨියත්, ඒ වටා ඇති වන්නා වූ සම්මා සතියත්, සම්මා වායාමයත් කියන මාර්ග හංග තුනෙන් පරිවාර කරගෙන තියෙනවා කියල දේශනා කරනවා. මේ ටික තේරුම් ගත්ත දවසට සම්මා සංකප්ප කියන්නෙ මොකක්ද කියල කාගෙන්වත් අහන්න ඕන නෑ. ප්‍රණීත වූ ලෝකෝත්තර සම්මා සංකප්පය තේරුම් ගන්නවා. මධ්‍යම වූ ලෞකික සම්මා සංකප්පය තේරුම් ගන්නවා. හීන වූ මිච්ඡා සංකප්පය තේරුම් අරගෙන මිච්ඡා සංකප්පයෙන් මිදිල, ලෞකික සම්මා සංකප්පය තැනට සුදුසු ආකාරයෙන් ඇසුරු කරමින්, ප්‍රණීත වන්නා වූ ආර්ය සම්මා සංකප්පය වඩල නිවන් අවබෝධ කරගන්න මාර්ගය පූර්ණ කරගන්නවා. දැන් කාගෙන්වත් අහන්න සැකයක් ඉතිරි වෙලා නෑ. දැන් අපි මෙච්චර කලක් බණ ඇහුවට මේවා ගැන අහල තිබුනද හිතල තිබුනද කියල කල්පනා කරල බලන්න.

ඊළඟ මාර්ග හංගය තමයි සම්මා වාචා. එතැනදි මිච්ඡා වාචා මිච්ඡා වාචා විදිහට දැනගන්නවා. ඒ කියන්නෙ මුසාවාදය, පිසුනා වාචාව, පරුසා වාචාව, සම්පප්‍රලාපය කියන මෙබඳු වන්නා වූ යම් වචනයෙන් කෙරෙන්නා වූ දුශ්චරිතයක් ඇත්ද, එබඳු යම් පාප සංඛාරයක් ගොඩනැගෙනවද, අන්න ඒක මිච්ඡා වාචාවක් සේ දැනගන්නවා. මුසාවාදයෙන්, පිසුනා වාචයෙන්, පරුසා වාචයෙන්, සම්පප්‍රලාපයෙන් වෙන්වීමක් ඇත්ද, අන්න ඒවායින් වෙන්වීම තමයි මුසාවාදා වේරමණී පිසුනාවාචා වේරමණී පරුසාවාචා වේරමණී සම්පප්‍රලාපා වේරමණී අයං වුච්චති භික්ඛවේ සම්මා වාචා... කියල පෙන්වන මේ මාර්ග හංගයේ පූර්ණත්වය. අරිහත්වයට යනකල්ම ඒක ක්‍රමයෙන් පූර්ණත්වයට පත් වෙනවා. මෙයින් වෙන් නොවුනා වූ මුසාවාදා, පිසුනා වාචා, පරුසා වාචා, සම්පප්‍රලාපා කියන වචනයෙන් කෙරෙන්නා වූ යම් වැරදි පැත්තක් ඇත්ද, ඒ ටික මිච්ඡා වාචා කියල දැනගන්නවා.

එහෙනම් මුසාවාදයෙන් වෙන් වුනාම (මුසාවාදා වේරමණී), ඒ වගේම පිසුනා වාචාවෙන්, පරුසා වාචාවෙන්, සම්පප්‍රලාපයෙන් වෙන් වුනාම අන්න ඒ තත්වය සම්මා වාචා කියල දැනගන්නවා. සම්මා වාචා දෙයාකාරයි. එකක් ලෞකිකයි, කෙළෙස් සහිතයි, සුගතියට, සසර ගමනට හේතු වෙනවා, අනික ලෝකෝත්තරයි, නිවනට හේතු වෙනවා කියල දැනගන්නවා. මෙන්න මේ ටික හරියට විග්‍රහ කරල දැනගත්තම මිච්ඡා වාචා මිච්ඡා වාචා විදිහට දකින, සම්මා වාචා ලෞකිකවත් ලෝකෝත්තරවත් දකින සම්මා දිට්ඨිය පහල වෙනවා. සම්මා වාචා කියන මාර්ග හංගය පිළිබඳ සම්මා දිට්ඨිය මේ ආකාරයෙන් සකස් වෙනවා.

එහෙනම් නිවන් දකින්න හේතු වෙන සම්මා වාචා මාර්ග හංගය වෙන් කරල හොයා ගන්නෙ කොහොමද? **බොරු නොකිය, කේලාම් නොකිය, පරුස වචන නොකිය, සම්පප්‍රලාප නොකිය ඉන්න පුළුවන් අය අබුද්ධෝත්පාද කාලයෙත් හිටියා.** ඒක අපිට නෑ කියන්න බෑ. එහෙනම් ඒ ටික නොකිය හිටිය නිසා ඒ අය ළඟත් සම්මා වාචා කියන ලෞකික මාර්ග හංගය තිබුනා. හැබැයි ඒක සසර ගමනට සුගතියට හේතු වෙනව මිසක් නිවනට හේතු වෙන්නෙ නෑ. එහෙනම් නිවනට හේතු වෙන සම්මා වාචාව වෙන් කර ගන්න ඕන.

මූලික ධර්මය අහල ලෝකයේ අසාර බව තේරුම් ගත්ත නම්, අසාර ලෝකයක් තුල මොනවා ලබා ගන්න බොරු කියල අනුන් රවටන්නද? කේලාම් කියල මොනවට අනුන් බිඳවන්නද? පරුස වචන කියල අනුන් මොකට සැඩ බවට පත් කරන්නද, පරුස බවට පත් කරන්නද? ප්‍රලාප කියල මොකට

ලෝකයා මුලා කරන්නද? වැඩක් නැති අසාර ලෝකය තුල බොරුවෙන්, කේළමින්, පරුස වචනයෙන්, හිස් ප්‍රලාප දෙඩීමෙන් මට වැඩක් නෑ. හරයක් නැති අසාර වන්නා වූ ලෝකය තුල මෙබඳු වචන භාවිතා කිරීමෙන් ඇති හරය මොකක්ද? ඒ නිසා මම ඒවා අත්හරිනවා කියල යථාවබෝධය තුලින් අත්හැරීමක්, නොඇල්මක්, මිදීමක් වුනා නම්, අන්න ඒ තමයි සම්මා වාචා කියන්නා වූ නිවන් දකින මාර්ග හංගය. දැන් හොඳින් තේරුම් ගන්න ඕන, නිවන් දකින මාර්ග හංගය මෙච්චර කල් දැනගෙන හිටියද කියල. එහෙනම් සම්මා වාචා පිළිබඳවත්, මිච්ඡා වාචා පිළිබඳවත් මේ කාරණා ටික දැනගත්තා. අන්න ඒ තැනැත්තා සම්මා වාචාව පිළිබඳ සම්මා දිට්ඨියෙන් යුක්ත වුනා වෙනවා. ඒ තවත් සම්මා දිට්ඨියක්.

දැන් එහෙනම් සම්මා දිට්ඨි පිළිබඳ සම්මා දිට්ඨිය, සම්මා සංකප්ප පිළිබඳ සම්මා දිට්ඨිය, සම්මා වාචා පිළිබඳ සම්මා දිට්ඨිය කියන මේවා දැකල තියෙන්න ඕන, තේරුම් අරගෙන තියෙන්න ඕන. ඊට පස්සෙ කාගෙන්වත් සම්මා දිට්ඨිය මොකක්ද, සම්මා දිට්ඨි වෙන්නෙ කොහොමද, කැඩෙන්නෙ කොහොමද කියල අහන්න දෙයක් නෑ. මේ විග්‍රහයේ ඒ ඔක්කොම ගැබ් වෙලා තියෙනවා.

එහෙනම් සම්මා වාචා පිළිබඳ සම්මා දිට්ඨිය මේ විදිහට පහල වුනා නම්, තමන් අතින් මිච්ඡා වාචාවක් සිද්ධ වෙන්න එනකොටම මොහොතින් වැටහෙන්න පටන් ගන්නවා, එවෙලෙම සිහියට නැගෙනවා මේක මිච්ඡා වාචාවක් කියල. ඒ වගේම මේක ලෞකික වූ සම්මා වාචාවක්, මේක ලෝකෝත්තර වූ සම්මා වාචා ස්වභාවයක් කියල ඒ ටික වැටහෙන්න ගත්ත නම්, සම්මා වාචා පිළිබඳව සම්මා සතිය පහල වුනා වෙනවා. මුසාවෙන්, පිසුනාවෙන්, පරුසයෙන්, සම්පප්‍රලාපයෙන් සහමුලින් වෙන් වෙලා කෙළවර කරන යම් දවසක අරිහත් ඵලයේ පූර්ණත්වයක් ඇත්ද, අන්න එදා වෙන කල් සසර ගමන කෙළවර කරන තුරු ඒ පිළිබඳව යම් උත්සාහයක් වීර්යක් අරගෙන ඒ ආකාරයෙන් කටයුතු කරනව නම් ඒ තමයි සම්මා වාචාව වට කරගෙන තියෙන සම්මා වායාමය. දැන් සම්මා වාචා මාර්ග හංගය වට කරගෙන පරිවාර කරගෙන කාරණා 3 ක් තියෙනවා. ඒ තමයි සම්මා දිට්ඨි, සම්මා සති, සම්මා වායාම කියන මාර්ග හංග 3. ඒ ටික තෝර ගත්තම සම්මා වාචා මාර්ග හංගය තෝර ගත්තා වෙනවා.

ඊළඟ මාර්ග හංගය තමයි සම්මා කම්මන්තය. පාණාතිපාතා වේරමණී, අදින්නාදානා වේරමණී, කාමේසු මිච්ඡාචාරා වේමරණී අයං වුච්චති භික්ඛවේ සම්මා කම්මන්තෝ. මේ මාර්ග හංගයත් අර විදිහමයි. එහෙනම් මේ කාරණාවලින් වෙන්වීම දකින්න ඕන. ප්‍රාණඝාතය, අදත්තාදානය, කාම මිච්ඡාචාරය කියන මේ කාරණා ටික සිද්ධ කරනව නම්, ඒ පුද්ගලයා මිච්ඡා කම්මන්තයෙන් යුක්තයි. එහෙනම් සම්මා කම්මන්තය මොකක්ද? ප්‍රාණඝාතයෙන්, අදත්තාදානයෙන්, කාම මිච්ඡාචාරයෙන් වෙන්වීම.

මේ කියන සම්මා කම්මන්තයත් දෙයාකාරයි. එකක් ලෞකිකයි. අනික ලෝකෝත්තරයි. එහෙනම් යම් කෙනෙක් ප්‍රාණඝාත, අදත්තාදාන, කාම මිච්ඡාචාර අත්හැරල කටයුතු කරනව නම් ලෞකික සම්මා කම්මන්තය ලැබෙනවා. ඒක කෙළෙස් සහිතයි, සුගතියට සසර ගමනට හේතු වෙනවා. නමුත් නිවනට හේතුකාරක මදි. එහෙනම් නිවනට හේතු වෙන සම්මා කම්මන්තය කොහොමද වෙන් කරගන්නෙ? මේ යථා ධර්මය අහල වටහාගෙන, ලෝකය අසාරයි, අසාර ලෝකයේ මොන යහපතක් කරගන්නද, මොනවා ලබා ගන්නද මම කටයුතු කරන්නෙ කියල මේ අදහස එනකොට මොකද සිද්ධ වෙන්නෙ? මම මොකට ප්‍රාණඝාත කරන්නද? මොකට හොරමැර වංචා කරන්නද? මොකට සුරා සූදු දුරාචාර කරන්නද? මොන ලාභයක් ලබා ගන්නද? අසාර ලෝකයේ මේවා කරල මොන යහපතක් කරගන්නද?... මෙන්න මේ අදහස එන්න පටන් ගන්නවා. මේ අදහස එනකොට යම් කිසි ආකාරයක මිච්ඡා කම්මන්ත වශයෙන් තිබුන කටයුත්තක් තිබුන නම් අත්හැරිල යනවා. වැඩකට නැති පාප කොටසක් අත්හැරී නොඇලී මිදී යනවා. මේ අවස්ථාවෙදි ධර්මාවබෝධයෙන් සිද්ධ වෙන මේ කාරණය යම් සේ පූර්ණ වෙනවද, ඒ තමයි ආර්ය විනයේ නිවන් දකින්න හේතු වෙන සම්මා කම්මන්තය.

මේ කාරණය තේරුම් ගත්තම අර ක්‍රමයටම දැනගන්නවා. මිථ්‍යා කම්මන්තය මිථ්‍යා කම්මන්තය සේ දැනගන්නවා. සම්මා කම්මන්තය දෙයාකාරයි කියල දැනගන්නවා. එකක් ලෞකිකයි, අනික ලෝකෝත්තරයි කියල වෙනම දැනගන්නවා. මේ දැන ගැනීමට කියනවා, සම්මා කම්මන්ත මාර්ග හංගය පිළිබඳ සම්මා දිට්ඨිය පහල වුනා කියල. ඒ තවත් සම්මා දිට්ඨියක්.

මේ කියන සම්මා කම්මන්තය තේරුම් ගත්තට පස්සෙ, යම් කිසි විදිහකින් ප්‍රාණඝාතයක්, අදත්තාදානයක්, කාම මිත්‍යාචාරයක් නැගිල එන අවස්ථාවක්, ඒ වගේ දෙයක් කරන්න සිද්ධ වෙන අවස්ථාවක්, අරමුණු වෙන අවස්ථාවක් ළං වෙනකොටම එතැනදි දකිනවා, මේක මිච්ඡා කර්මාන්තයක්, නොකළ යුත්තක් කියල. ඒ වගේම ඒවායින් යම් කිසි මිදීමක් ඇත්ද, ලෝක සත්වයාගේ හෝ තමන්ගේ හෝ එබඳු අවස්ථාවක් දැක්කම, මේක ලෞකිකයි, කෙළෙස් සහිතයි, සුගතියට, සසර ගමනට හේතු වන්නා වූ ප්‍රාණඝාත අත්හැරීමක්, හොර මැර වංචා අත්හැරීමක්, කාම මිත්‍යාචාරය අත්හැරීමක් කියල දකිනවා. නමුත් මෙන්න මේ යථා දහම අවබෝධ කරගත්ත කෙනෙක් ඒ හේතුව උඩ, හරයක් නැත්තා වූ අසාර වන්නා වූ ඒ ලෝක වැඩපිළිවෙලට ප්‍රාණඝාත කරල මට කරගන්න දෙයක් නෑ, හොර මැර වංචා කරල කරගන්න දෙයක් නෑ, සුරා සූදු මිත්‍යාචාර ආදියෙන් මට කරගන්න දෙයක් නෑ, මොන හරයක් ඇති වැඩද, අසාර දේවල්වලින් මම වෙන් වෙන්නෙ වැඩක් නැති නිසයි කියල දකිනවා. ඒ තමයි ශ්‍රේෂ්ඨ වන්නා වූ නිවන් දකින්න හේතු වෙන සම්මා කම්මන්තය.

මේ කාරණය තේරුම් ගත්තම, යම් කිසි දෙයක් වැඩිය යුතුද, අප්‍රමාදයෙන් යුක්ත වෙලා මේ යථාවබෝධය පූර්ණ කරගන්න උත්සාහ කරනවා. පූර්ණ කරගත්ත තරමට ශාන්තයි, ප්‍රණීතයි, නිවී සැනසී යනවා. ඒ නිසා ඒ සඳහා උත්සාහ කළ යුතුයි, වීරිය කළ යුතුයි කියන හැඟීමෙන් කටයුතු කළා නම්, එතැන ඇතිවෙනවා සම්මා කම්මන්ත පිළිබඳව සම්මා වායාම මාර්ග හංගය. මේ ආකාරයෙන් සම්මා කම්මන්ත කියන මාර්ග හංගය සම්මා දිට්ඨි, සම්මා සති, සම්මා වායාම කියන මාර්ග හංග 3 කින් වට කරගෙන පරිවාර කරගෙන තියෙනවා.

ඊළඟ මාර්ග හංගය තමයි සම්මා ආජීවය. මිච්ඡා ආජීවය මිච්ඡා ආජීවය සේ දැනගනී, සම්මා ආජීවය සම්මා ආජීවය සේ දැනගනී, සම්මා ආජීවය දෙයාකාරයි කියා දැන ගනී, එකක් කෙළෙස් සහිතයි, සුගතියට, සසර ගමනට හේතු වෙනවා, අනික ලෝකෝත්තර නිවනට හේතු වෙනවා කියල වෙන වෙනම තේරුම් ගන්න ඕන. මිච්ඡා ආජීව මොනවද? නොයෙක් ආකාරයේ දුශ්චරිතයෙන්, නොකටයුතුකම්වලින්, නොකටයුතු වෙළඳාම්... ආදියෙන් කෙනෙක්

සමාජයේ ජීවත් වෙන්න බලනව නම්, ජීවිතය පවත්වන්න බලනව නම්, එබඳු අසාධාරණ ජීවනෝපායක් ඇත්නම්, එබඳු ජීවත් වීම මිත්‍යා ආජීවය කියල දැනගන්නවා. එහෙනම් දැහැමින් සාමයෙන් උපයා සපයාගෙන ජීවත් වීමක් ඇත්ද ඒක සම්මා ආජීවයයි කියල දැනගන්නවා. හැබැයි ඒ ලෞකික සම්මා ආජීවය.

යථාර්ථය වටහා ගන්න කෙනාට වැටහෙනවා, මේ අසාර ලෝකයේ මොනව ලබා ගන්නද මම ජීවත් වෙන්නෙ, මොනවද මට මේ ලෝකෙ ගන්න තියෙන හරය කියල. එහෙනම් මේ ලෝකයෙන් මට ගන්න දෙයක් නැත්නම් මම මොකක්ද ගන්න තීරණය? මොකටද මගේ ජීවත් වීම? මේ ආර්ය මාර්ගය හරියාකාරව පූර්ණ කරගන්නයි ජීවත් වෙන්නෙ. ඒක ශාන්තයි, ප්‍රණීතයි. නිවන් අවබෝධයෙන් සහමුලින් කෙළවර කරගන්න දවසක් ඇත්නම් එදාටයි මේ සසර ගමනින් මිදිල කෙළවර වෙන්නෙ. ඒ නිසා මගේ ජීවිතය මම පවත්වනව නම් දැහැමින් සාමයෙන් පවත්වන්නෙ මේ අධිෂ්ඨානය මුල් කරගෙනයි කියල ඒ බලාපොරොත්තුව ආවම, ආර්ය ධර්මය තුල නිවනට හේතු වෙන සම්මා ආජීවය පහල වුනා වෙනවා. මේ ටික තේරුම් ගත්තම මිච්ඡා ආජීවය මිච්ඡා ආජීවය විදිහට දැනගන්නවා. සම්මා ආජීවය දෙයාකාරයි කියල කලින් වගේම ලෞකික, ලෝකෝත්තර පැත්ත දැනගන්නවා. ඒ දැනීම ලැබුනම සම්මා ආජීවය පිළිබඳ සම්මා දිට්ඨිය පහල වුනා වෙනවා. ඒ තවත් සම්මා දිට්ඨියක්.

ඊළඟට සම්මා ආජීවය පිළිබඳව යම් කිසි කෙනෙක් මේ විදිහට දැනගත්තද, මෙබඳු ජීවත් වීමක් ඇත්නම් හීන ස්වභාවයයි, මෙබඳු ජීවත් වීමක් ඇත්නම් මධ්‍යම ස්වභාවයයි, මෙබඳු වන්නා වූ උත්තම ජීවිතයක් ගත කරන්නේ ආර්ය මාර්ග ඵලාවබෝධයයි, එබඳු ජීවිතයක් ඇත්නම් ඒක ශ්‍රේෂ්ඨයි කියල මේ ආකාරයෙන් හීන, මධ්‍යම, ප්‍රණීත වශයෙන් දහම් දකින ක්‍රමයක් එනවා. ඒ ස්වභාවයේ ජීවිතය හඳුනා ගන්නවා. කෙනෙක්ගෙ ජීවිතයත් ඔය ආකාරයෙන් දැන ගන්නවා. මේ විදිහට තේරුම් ගත්ත කෙනාට සම්මා ආජීවය පිළිබඳ සම්මා සතිය ලැබෙනවා. ඊට අනුව කටයුතු කිරීමේ උත්සාහයක් වීර්යක් ඇත්ද, ඒ පිළිබඳ සම්මා වායාමය පිහිටනවා. මේ ආකාරයෙන් සම්මා ආජීවය පිළිබඳ සම්මා දිට්ඨිය, සම්මා සතිය, සම්මා වායාමය කියන මාර්ග හංග 3 කින් වට කරගෙන පරිවාර කරගෙන පිහිටියා නම්, ක්‍රියාත්මක වුනා නම්, ඒකට කියනවා ආර්ය ධර්මය තුල සම්මා ආජීවය දැනගත්තා කියල, සම්මා ආජීවයට පත් වුනා කියල.

එහෙනම් සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව කියන මේ මාර්ග හංග 5 යම් කෙනෙක් ඔය ආකාරයෙන් තේරුම් ගත්ත නම්, ඊට අනුව හැසිරෙන්න පටන් ගත්ත නම්, ඒ 5 වට කර ගත්තා වූ සම්මා දිට්ඨි, සම්මා වායාම, සම්මා සති කියන මාර්ග හංග 3 ත් වැඩිල මාර්ග හංග 7 ක් සම්පූර්ණ වෙනවා. අට වෙනි මාර්ග හංගය පෙන්වන්නෙ, හරියට වටිනා ගහක බීජයක් හිටවගෙන සාත්තු කරන පොහොර දමන කෙනාට ඒ සාත්තුව නිසා පොහොර නිසා, ඒ හිටවගත්ත බීජය පැළ වෙලා කඳ ලබා දුන්නේ යම් සේද, සමාධිය නමැති කඳත් ඒ ආකාරයෙන් ලැබෙනව කියල. එහෙනම් ඒ කඳ නමැති සම්මා සමාධිය ලබා ගන්න නම් අමුතුවෙන් කළ යුතු දෙයක් නෑ. ඔන්න ඔය මාර්ගය අනුගමනය කරන්න කියන එකයි බුදු පියාණන් වහන්සේ පෙන්වා තියෙන්නෙ. නිසි කල්හි මල් ඵල ලැබෙන සේ මාර්ග ඵලත් ලැබෙන බවයි පෙන්වා තියෙන්නෙ.

එහෙනම් ආර්ය වන්නා වූ නිවනට හේතු වෙන අරි අටඟි මග ඔය ආකාරයෙන් තේරුම් ගත්ත නම්, දැන් කාගෙන්වත් අහන්න ඕන නෑ මොකක්ද නිවන් මග, කොහොමද නිවන් දකින්නෙ, මේක ඇත්තද බොරුද කියල. තම තමන්ටම ඉහාත්මයේදී හෙවත් මේ අත්බැවේදී ඒ යථාවබෝධය ලබා ගැනීමත් සමග ශාන්ත වූ ප්‍රණීත වූ නිවන් අවබෝධ කරගන්න පුළුවන්කම ලැබෙනවා. අන්න ඒ ආර්ය අෂ්ඨාංගික මාර්ගය ඔය ආකාරයෙන් පූර්ණ වෙන්නෙ කියල තේරුම් අරගත්ත නම්, එතැනදි ඥානය ලබන්න අමුතුවෙන් කරන්න දෙයක් නෑ කියල පෙන්වනවා. <u>න චේතනා කරණීය සූත්‍රයෙන්,</u> තවත් නොයෙක් සූත්‍රවලත් ඒ කාරණය පෙන්වා තියෙනවා.

කුසල සීලය - අවිප්‍රතිසාරයත් (සිතේ නොවිසිරෙන ස්වභාවය), අවිප්‍රතිසාරය - ප්‍රමෝදයත්, ප්‍රමෝදය - පස්සද්ධියත් (සැහැල්ලුව), පස්සද්ධිය - ප්‍රීතියත්, ප්‍රීතිය - සුඛයත්, සුඛය - සමාධියත්, සමාධිය - යථාභූත ඥාන දර්ශනයත්, යථාභූත ඥාන දර්ශනය - නිර්වේදයත් (නොබැඳීම / වෙන්වීම), නිර්වේදය - විරාගයත්, විරාගය - විමුක්තියත්, විමුක්තිය - විමුක්ති ඥාන දර්ශනයත් ලබා දේ, මෙසේ ධර්මයෝම ධර්මයෝ පවත්වයි, නිර්වාන පරතෙරට යාම සඳහා ධර්මයෝම ධර්මය පුරවයි කියල පෙන්වා තියෙනවා. ඒ තමයි ධර්ම මාර්ගය අනුගමනය කරනකොට සීල, සමාධි, ප්‍රඥා පූර්ණ වෙලා නිවන් සාක්ෂාත් කර ගැනීම සම්පූර්ණ වෙන හැටි.



එහෙනම් අපිට කරන්න තියෙන්නෙ මොකක්ද? හරියට මාර්ගය තේරුම් අරගෙන, ගහට හරියට සාත්තු සප්පායම් කරනව වගේ ඒ කටයුත්ත හරියට කිරීම. එතකොට අපිට දැනගන්න පුළුවන් වෙනවා සීල, සමාධි, ප්‍රඥා ගුණ පූර්ණ වෙලා මාර්ග අවබෝධය ලැබෙන හැටි. මේ ටික තේරුම් අරගෙන කටයුතු කරගෙන යනකොට ආර්ය අෂ්ඨාංගික මාර්ගයේ සීල සාසනය නැගෙනවා. එතකොට සමාධි සාසනයත් එතැනම නැගෙනවා. සම්මා ඥාන, සම්මා විමුක්ති කියන දස හංගයත්

සම්පූර්ණ වෙනකොට ප්‍රඥා සාසනයත් නැගෙනවා. සීල, සමාධි, ප්‍රඥා කියන මේ ටික වැඩෙනව නම්, ඒ පුද්ගලයා සම්මත වශයෙන් මොන ජාතියේ, මොන ගෝත්‍රයේ, මොන කුලයේ, මොන විදිහෙ තැනක හිටිය කිව්වත්, ආර්ය මාර්ගය පූර්ණ කළොත් කවදහරි කෙළවර වෙන්නෙ අරිහත් ඵලයෙන්.

ඒ නිසා මේ ලෝක සම්මතයේ තියෙන සම්මත ආගම් භේදවලට, කුලමල භේදවලවලට වැටෙන්නෙ නැතිව හරියාකාරව ප්‍රඥාව, වීර්ය වැඩෙන, ඒ මහා විද්‍යාඥයා පෙන්වා දුන්න විද්‍යා සිද්ධාන්ත ටික තේරුම් ගන්න උත්සාහ කරන්න ඕන. ඒ විද්‍යා සිද්ධාන්ත තුලින් තේරුම් ගන්න හරවත් දහමක් තමයි මේ චතුරාර්ය සත්‍ය ධර්මය. හොඳින් තේරුම් අරගෙන ඒ මග අනුගමනය කළා නම් ඒකාන්තයෙන් නිවන් සාක්ෂාත් කරගන්න පුළුවන්කම ලැබෙනවා. එබඳු දහමක් අහල එබඳු ශ්‍රේෂ්ඨ උත්තම අවස්ථාවක් අපි තේරුම් ගත්ත නම්, අපිට එන්න එන්නම වටිනාම දේ මොකක්ද? සම්මා දිට්ඨිය හට ගන්නා වූ ආකාරය ගැන හොඳින් තේරුම් කර ගැනීම. ඒ නිසා සම්මා දිට්ඨිය හරියාකාරව තේරුම් ගත්තට පස්සෙ යථාර්ථයෙන්ම සම්මා දිට්ඨි වෙන හැටි, අරි අටඟි මග වඩන හැටි දැන ගන්න පුළුවන්කම ලැබෙනවා. එහෙනම් සම්මා දිට්ඨියට එන්න නම්, හරියටම දකින්න නම් ("සං" කියන එකතුවෙන් මිදීම දකින්න නම්) ඔය ආකාරයෙන් දකින්න ඕන. ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ථ වශයෙන් තේරුම් ගන්න ඕන. එතැන තමයි මුල තියෙන්නෙ, එතැන තමයි දහම් ඖෂධය තියෙන්නෙ.

මේ ලෝකය ප්‍රිය මනාපයක්, යහපත් දෙයක්, හරවත් දෙයක් කියල හිතාගෙන ඉන්නව නම්, කැමති සේ නොපවත්නා මේ ලෝකය තුල මොනවා "මම" කියල ගන්නද? මොනවා "මගේ" කියල අල්ල ගන්නද? හරයක් තියෙන්නෙ මොනවද? මේ ටික තේරුම් ගන්න ඕන. එහෙම තේරුම් අරගෙන යථාවබෝධය ලබා ගන්න කෙටි භාවනාවක් මතක තියාගන්න ඕන. ඒ භාවනාව වඩනකොට තමන්ටම තේරුම් ගන්න පුළුවන් වෙයි, මොනවද මේ ලෝකයේ සාර ධර්මයක් තියෙන්නෙ, අපි මොනවද මේ ලෝකෙ හරයක් තියෙනවයි කියල අල්ලන්න හදන්නෙ, අනාථ දේවල්ද නාථ දේවල්ද මේ ලෝකෙ තියෙන්නෙ කියන කාරණා. **ඒ නිසා චතුරාර්ය සත්‍යය දකින්න නම් සැප හොය හොයා ඉඳලත් බෑ. ඒ වගේම ලෝකෙ සම්මත වෙලා තියෙන දුක ගැන හිත හිතා ඉඳලත් බෑ. ඒ දෙක පැත්තකින් තියල හේතු කාරකයෙන්ම මේ දුක උපදවන්න හේතු වන්නා වූ යම් තණ්හාවක් ඇත්ද අන්න ඒ තණ්හාවට හේතුව නිතර හොයල බලන්න ඕන. ඒකෙ හරයක් තියෙනවද කියල බලන්න ඕන.** මේ ටික දකිනකොට ප්‍රිය භාවය සිඳිල යනවා. ප්‍රිය භාවය ගෙන දෙන්නා වූ පංච කාමයන් කෙරෙහි තියෙන ප්‍රිය භාවය සිඳිල ගියා නම් එතැනදි ඇත්ත පේන්න පටන් ගන්නවා.

එහෙනම් අපි හරියට ඇත්ත දැනගත්ත තරමට, යම් කිසි ප්‍රිය මනාප දෙයක තියෙන අසාරත්වය දැනගත්ත තරමට තමයි ඒකෙන් මිදෙන්නෙ. මොකක් නිසාද? මේ ප්‍රිය මනාපය අල්ල ගත්ත මානසිකත්වයක් උඩින් තමයි මේ ලෝකෙ දුකට මුල් වෙලා තියෙන්නෙ. අන්න අපි ඒ අල්ල ගත්ත ප්‍රිය මනාපය වටිනා දෙයක්ද, හරයක් ඇති දෙයක්ද කියල හිතල බලන්න පුරුදු වෙන්න ඕන. එහෙනම් ප්‍රියයි, මනාපයි, යහපතයි කියල මේ ලෝකෙන් අල්ල ගන්න හදන්නෙ මොනවද? "මම" කියල කොටසක් ප්‍රියයි, මනාපයි, යහපතයි කියල ගන්න හදනවා. "මගේ" කියල කොටසක් කෙරෙහි හිත බඳිනවා. මේ ආකාරයෙන් මම, මගේ කියල කොටස් 2 ක් ලෝකයෙන් අල්ල ගන්න බලාපොරොත්තු වුනා නම් මෙන්න මේ ටික රැකගන්න තමයි, මේ ටික සකස් කරගන්න තමයි හැම මොහොතක් පාසාම බලාපොරොත්තු වෙන්නෙ.

එහෙනම් යමක් මමයි, මගෙයි කියල අල්ල ගත්ත නම්, මෙච්චර කල් අල්ල ගන්න හදපු ඇහැ තුල, කන තුල, නාසය තුල, දිව තුල, කය තුල, නැත්නම් මේ රූපය තුල අපිට අල්ල ගන්න දෙයක් තිබුනද? කොයි තරම් සුද්ධ පවිත්‍ර කළත්, ඒවා කැමති ආකාරයෙන් පවත්වන්න පුළුවන්කමක් නෑ. කැමති නැති දේට පත්වෙලා විනාස වෙලා යන දෙයක් මිසක් කැමති සේ පවත්වන්න පුළුවන් කයක් ඇති කිසිම සත්වයෙක් නැත්නම්, එබඳු කයක් මම කියල, එබඳු දෙයක් මගේ කියල හරයක් ගන්න පුළුවන්ද? එහෙම ගන්න පුළුවන්කමක් නැත්නම්, මේ දහම ගැන ඉතාම කෙටියෙන් මේ විදිහට තේරුම් ගන්න ඕන. අනාථ ධර්ම මිසක් මේ ඇස, කන, නාසය, දිව, කය, මන තුල නාථ දෙයක් නෑ.

එහෙනම් ලෝක කියන්නෙ මොනවටද? ඇස, කන, නාසය, දිව, කය, මන ලෝකයට අයිතියි. ඒවාට ගෝචර වෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන ඒවත් ලෝකයට අයිතියි. එහෙනම් මේ ලෝකය තුල තියෙන යමක් ඇත්නම් ඒවා අනාථ නම්, අත්හැරී නොඇලී මිදී යාමක් ඇත්නම් ඒකයි නාථ. මේ විදිහට අනාථ, නාථ දැක්ක නම් බුදුන් දැක්ක වෙනවා. ඒ නිසා හැමෝටම පහසු භාවනාවක් තේරුම් අරගන්න ඕන.

කාම ලෝකය කියල කොටසක් තියෙනවා. ඒ තමයි කාම වස්තු ඇසුරු කරමින් ප්‍රියයි, මනාපයි කියල ඉන්න ලෝකය. ඒ වගේම රූප ලෝකය හෙවත් බඹ ලොව කියල කොටසක් තියෙනවා. අරූප ලෝක කියල තවත් නොපෙනෙන බඹ ලෝක කොටසක් ගැන කියවෙනවා. **මේ කොහේ සැරිසැරුවත් හට ගත්ත නම් විපරිනාමයට පත් වෙලා විනාස වෙලා යන, කැමති සේ පවත්වන්න බැරි දහම් තුලමයි සැරිසරන්නෙ.** අනාථ දහම් තුල කාම ලෝකයත් අනාථයි, රූප ලෝකයත් අනාථයි, අරූප ලෝකයත් අනාථයි. එහෙනම් නාථ මොකක්ද? මේවා පිළිබඳ ඡන්ද රාගයක අත්හැරීමක් ඇත්ද නාථයි. නොඇල්මක් ඇත්ද නාථයි. නිවීමක් සැනසීමක් ඇත්ද නිවනම නාථයි. ඒ විදිහට මෙතෙක් කල් විග්‍රහ කරපු දහම්වල අර්ථය අරගත්ත නම් නිවන් දකින කර්මස්ථානයක් ලැබෙනවා. ඒ ආකාරයෙන් යථාවබෝධය ලබාගෙන කෙළෙස් අත්හැරීමෙන්, නොඇලීමෙන්, මිදීමෙන් ලබන නිවන් සාක්ෂාත් කරගන්න අද අදම හේතු වාසනා වේවා කියන අධිෂ්ඨානය ඇති කරගෙන මේ කර්මස්ථානය වඩන්න.

කාම ලෝක අනාථයි
රූප ලෝක අනාථයි
අරූප ලෝක අනාථයි
සියලු ලෝක අනාථයි
අතහැරීම නාථයි
අතහැරීම වේවා
නොඇල්ම නාථයි
නොඇල්ම වේවා
මිදීම නාථයි
මිදීම වේවා
නිවනම නාථයි
නිවනම වේවා

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**


කළු කැම්මේරිය


විලඳවැන්න


නියඳ


ගොඩපර

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 21

දුර්ලභව ලැබූ මනුස්සස අත්බවය වස විස ආදී ප්‍රයෝග විපත්තිවලින් විනාස වෙන්න ඉඩ නොදී ආරක්‍ෂා කර ගැනීමේ අරමුණින්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වර්තමාන සමාජයේ ඔඩුදුවා තියෙන වස විස ආහාර හමුවේ ඊට විකල්ප වශයෙන් භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා ස්වභාවික දේශීය ආහාර වර්ග කිහිපයක් වර්තමාන සහ පශ්චිම ජනතාවගේ හිතසුව පිණිස මෙවරත් සටහන් කරනවා.

**ඕලු** - ඕලු හඳුනන්නෙ නැති කෙනෙක් නෑ. රට පුරා බොහෝ ජලාශ, වැව් අමුණු, වගුරු බිම්, ගංගා ඇලදොළ ආදියේ බහුලව දකින්න පුළුවන්. පූජා කරන්න මල් ගන්නවා හැර ඉතිරිය වෙනත් ප්‍රයෝජනයකට ගන්න බවක් පේන්න නෑ. ඕලුවල තියෙන ඖෂධ ශක්තියත්, ආහාරයක් වශයෙන් භාවිතා කරන ආකාරයත් දන්නෙ නැතිකමින් නිකරුනේ අපතෙ යනවා.

රතු ඕලු, සුදු ඕලු, කහ ඕලු, දම් ඕලු... ආදී වශයෙන් ඕලු වර්ග කිහිපයක් තියෙනවා. මේ එක් එක් ඕලු වර්ගවලට ආවේණික සුවිශේෂීය ඖෂධ ශක්තීන් තියෙනවා. හෙළ වෙදකමේදී ඒ ඒ ලෙඩ රෝග සුව කරන්න වෙන් වෙන් වශයෙන් මේවා යොදා ගන්නවා. නමුත් සමස්ථයක් වශයෙන් මේ සියලු ඕලු වර්ග ආහාරයට එකතු කරගන්න පුළුවන්.

ඕලුවල තියෙන ඖෂධ ශක්තියෙන් ශරීරය සමතුලිත කරනවා. වා පිත් සෙම් කියන තුන් දොස් සමනය කරනවා. ශරීරයේ සියලු නහර පද්ධති සක්‍රිය කරනවා. ස්නායු දුර්වලතා මග හරවනවා, ස්නායු උත්තේජනය කරනවා. අම්ලපිත්ත ප්‍රදාහය, අධි රුධිර පීඩනය සහ අව රුධිර පීඩනය සමනය කරනවා. නහර ගැටගැසීමේ රෝගයෙන් පීඩා විඳින අයටත් ඉතා ගුණදායකයි. ඕලුවල තියෙන සුවිශේෂම ගුණය තමයි, ශරීරයේ ඕනෑම පද්ධතියක් තුල ක්‍රියාකාරීත්වය අවහිර වන යමක් ඇත්නම් දිය කරල වහා ශරීරයෙන් ඉවත් කිරීමට සැලැස්වීම. බහිස්‍රාවී පද්ධතියත් උපරිම සක්‍රියතාවයට පත් කරන නිසා අර්ශස්, භගන්දරා රෝගීන්ටත් ඉතා ගුණදායකයි.

ඒ වගේම ඕලුවල තියෙන මේ සුවිශේෂීය ඖෂධ ශක්තියත්, කෙඳි සහිත ස්වභාවයත් නිසා ආහාර මාර්ගයේ අංගුලිකාවල රැඳිල තියෙන කාරම් ගලවා හැරල ආහාර ජීර්ණයට අවශ්‍ය එන්සයිම නිසියාකාරව ගලන්න සලස්වනවා. **ඕලු ගෙඩි ආහාරයට ගැනීමෙන් අම්ල පිත්ත ප්‍රදාහය නිසා ආමාශයේ හට ගන්නා තුවාල වහා සුව කරනවා.**

ඒ වගේම කුඹුරු වැඩ කරනකොට **නගුලට උදැල්ලට තුවාල වුනාම, ගොයම් කපන කොට දෑ කැත්තට ඇඟිලි කැපුනම, මඩවනකොට හෝ ගොයම් පාගනකොට හරක්ට පෑගිලා නියපොතු ගැලවුනාම, මඩේ තියෙන උල් කැබලි නිසා හට ගන්නා තුවාල... ආදී සියලු අළුත් තුවාලවලට, ඕලු මලක පෙති හැලුනට පසු ඉතිරි වන ඕලු ගෙඩිය කොටාගෙන ඒ ස්ථානවලට තියල බැඳීමෙන් වහා සුව වෙනවා.** තෙමුනයි කියල පැසවන්නෙ නෑ.

ඕලු ගහේ සියලු කොටස් (කොළ, දළු, මල්, දඬු, ගෙඩි) එකට කොටාගෙන සහමුල සාමාන්‍ය කැඳක් වශයෙන් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. ඕලු දළු සාමාන්‍ය පළා සම්බෝලයක් ආකාරයටත්, ඕලු කොළ / දළු සාමාන්‍ය මැල්ලුමක් ආකාරයටත්, එළවළු ව්‍යංජනයක් වශයෙනුත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

ඕලු දඬු, පිටින් පෙරං ගාලා කෙඳි ටික ඉවත් කරල කොහිල ව්‍යංජනයක් සකස් කරන ආකාරයටත් ආහාරයට එකතු කරගන්න පුළුවන්. මේ දඬු විශේෂයෙන් නහර ගැට ගැසීමේ රෝගය තියෙන අයට ඉතාමත් සුදුසුයි. ඒ වගේම ඕලු මලේ පෙති හැලුනට පසු ඉතිරි වන ඕලු ගෙඩි සාමාන්‍ය වට්ටක්කා ව්‍යංජනයක් ආකාරයටත්, එහෙම නැත්නම් හීන් වෙන්න ලියාගෙන බැදුමක් ආකාරයටත් සකස් කරගෙන ආහාරයට එකතු කරගන්න පුළුවන්. හැබැයි **කිසිම අවස්ථාවක බුදුන්ට පූජා කරපු / පූජා කරල ඉවත් කරපු මල් ආහාරය සඳහා යොදා නොගත යුතුයි.**

ඒ වගේම මේ වෙනකොට කෘෂිකාර්මික කටයුතුවලදී භාවිතා කරන විවිධ රසායන වර්ග කුඹුරු, වැව් ආදියට එකතු වෙලා තියෙන නිසා මේවා ලබා ගන්නා ස්ථානය ගැනත් සැළකිලිමත් වීම වැදගත්. ඒ වගේ අවස්ථාවක ඒවා ආහාරයට සකස් කරගන්න පෙර කහ, දෙහි හෝ ස්වභාවික විනාකිරි, ලුණු මිශ්‍ර දියරයකින් පොඟවා සෝදා පවිත්‍ර කර ගැනීම වඩාත් සුදුසුයි.

**කළු කැම්මේරිය** - සීත කලාපයේ හැර රට පුරාම සුලභව දකින්න තියෙන, සාමාන්‍ය තෙතමනයේදී හොඳින් වැඩෙන, ටිකක් වැඩුනට පසු එතරම් තෙතමනයක් නැතිව වුනත් ඉතා

හොඳින් වැඩෙන, පුරං ඉඩම්වලත්, ඕවිටි බඩවැටි අසළත්, ගිනි ගොඩවල් ගැසූ තැන්වලත් ඉතා හොඳින් වැඩෙන, අඩි 2 - 3 කට වඩා උස නොයන, කොච්චි ගහට සමාන, ඒ තරම් තද කඳක් නැති කුඩා ශාකයක්. කොච්චි කොළයට සමාන කොළ තියෙන මේ ශාකයේ මොණරකුඩුම්බිය මල් පොකුරට සමාන මල් පොකුරු කරටි අගින් හට ගන්නවා.

හෙළ වෙදකම තුලදී සහමුලින්ම ඖෂධ සඳහා යොදා ගන්නවා. ඉනා බන්ධන ආදී වශී ගුරුකම් හරහා යම් යම් දේ ආහාරයට එකතු කරල දීම නිසා, ඒවා ආමාශයේ හෝ මහ බඩවැල තුල තැන්පත් වීම හේතුවෙන් හට ගන්නා ආසාදන ඉවත් කරන්න යොදා ගන්නවා. පින්වතුන්ගේ දැනගැනීම පිණිස ඒ වගේ ක්‍රමවේදයක් පහතින් සටහන් කරනවා. සර්ප විස, ගෝනුසු විස, පත්තෑ විස, බඹර - දෙබර විස, කලාඳුරුවන්ගේ විස... ආදිය ඉවත් කරන්නත් හෙළ වෙදකම තුලදී කළු කැම්මේරිය යොදා ගන්නවා. **ඒ වගේම සර්පයෙක්, පත්තෑයෙක්, ගෝනුස්සෙක් වගේ සතෙක් දෂ්ට කළාම, කළු කැම්මේරිය කොළ අහුරක් කඩාගෙන එළගි තෙල් එක්ක හොඳින් අඹරල දෂ්ට කළ ස්ථානය වැසෙන සේ ගැල්වීමෙන් වහා සුව වෙනවා.**

මේ ශාකයේ තියෙන විශේෂම ඖෂධ ශක්තිය තමයි, ශරීරයට අපත්‍ය වන යමක් ශරීරගත වුනාම ඉක්මනින් ඒ අපත්‍ය දෑ ශරීරයෙන් බැහැර කරල යථා තත්වයට පත් කිරීමට උපකාර වීම. **අද අපි ගන්නා ආහාරවලින් ශරීරයට එකතු වෙලා තියෙන වස විස දුරු කරගන්නත් කළු කැම්මේරිය ආහාරයට එකතු කරගන්න පුළුවන් නම් හොඳයි.**

පරිප්පු ටිකක් එකතු කරල සාමාන්‍ය එළවළුවක් ආකාරයට හෝ සාමාන්‍ය පළා සම්බෝලයක්, පළා මැල්ලුමක් ආකාරයට හෝ සකස් කරල ආහාරයට එකතු කරගන්න පුළුවන්. ඒ වගේම මොනවහරි බැදුමක් සකස් කරනකොට ඊට කළු කැම්මේරිය දළු, කරටි එකතු කරල කලවම් කර ගැනීමෙන් වෙනත් එළවළු නැතිව වුනත් බත් එක්ක ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම දළු, කොළ කැඳක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්.

<u>කළු කැම්මේරිය මගින් සියලු සර්ප විස, සියලු ඉනා බන්ධන කපන ක්‍රමයක්</u>

<u>ශරීරගත වූ ඉනාවක් හෝ අපත්‍ය ආහාරයක් මගින් ඇති වූ අජීර්ණ, ඇලියා දෝස (ආමියා දෝස) කැපීම සඳහා පහත ක්‍රමවේදය භාවිතා කරන්න පුළුවන්.</u>

පළමුව මල් පහන් සුවඳ දුම් පූජා කරල බුදුන් වැඳල තෙරුවන් කමා කරගෙන අධිෂ්ඨාන කර ගත්ත යම් කිසි කාලයක් සඳහා යම් කිසි සිල් වතක පිහිටල ඉන්න. ඉන්පසු දෙහි ගෙඩි 7 ක්, කළු කැම්මේරිය කොළ 7 ක ඉත්තක් සහ ඉති 7 ක අත්තක් එකට අරගෙන 108 වතාවක් පහතින් සඳහන් කරන ජල නන්දන අලගුවෙන් ජීවම් කරගන්න. ඒ සඳහා දිෂ්ටි, ප්‍රාණ, පලිප්පු කිරීම් ආදිය අවශ්‍ය නෑ. ඉන්පසු රෝගියා මරු නොසිටින ඊසාන දිසාවට මුහුණ සිටින සේ ඉඳගෙන, හිටගෙන හෝ දිගා වෙලා, 88 සඟරාවේ පෙන්වා ඇති පරිදි ශරීරයේ චක්‍ර 7 ට, අලගු ගාථාවෙන්ම එක චක්‍රයකට 1 බැගින් කියල දෙහි ගෙඩි 7 ඒ ඒ චක්‍රවලට තියල කපන්න. (අත් දෙකේ මහපට ඇඟිලි දෙක ළං කරල අත් දෙකේ චක්‍ර දෙකට එක දෙහි ගෙඩියකුත්, කකුල් දෙකේ මහපට ඇඟිලි දෙක ළං කරල ඒ දෙකට එක දෙහි ගෙඩියකුත් වන සේ සියල්ල 7 යි.) ඒ මගින් චක්‍ර හතේ කිරණ වළල්ල සම්පූර්ණයෙන්ම සුද්ධ වෙනවා.

ඉන්පසු කළු කැම්මේරිය ඉත්ත සහ අත්ත එකට අරගෙන පහත සඳහන් කරන මහ මුගලන් මන්ත්‍රයෙන් 7 වතාවක් ජීවම් කරල ඊට පහතින් සඳහන් කරන කුඩා මන්ත්‍රයෙනුත් 108 වතාවක් ජීවම් කරගන්න. ඉන්පසු ඒ කුඩා මන්ත්‍රය 7 වතාවක් කියල එක වරක් හිසේ සිට දෙපතුල දක්වා අතු / ඉති මගින් පිස දමන්න (ඉහල සිට පහලට ඇදගෙන යන්න). ඒ විදිහට 7 වතාව බැගින් මන්ත්‍රය කියල 7 වතාවක් පිස දමන්න. එක වතාවක් ඉහල සිට පහලට ඇදගෙන ගියාට පසු (පිස දැම්මට පසු) කොළ, අතු මිටිය 3 වරක් පොළවට ගසන්න. ඒ මගින් සියලු විස ඉවත් වෙනවා.

## <u>ජල නන්දන අලගුව</u>

චතුවීසති බුද්ධෝති යෝ භවිස්සති උත්තමං
පාරමී බල යුත්තේහී ජල නන්දන උත්තමං

අනෝමානී ජලං තීරේ උත්තමං පත්ත චීවරේ
පාරමී තේ ජලං හෝතී සර්ව බන්ධන ඡේදනා

ආනන්දෝති මහා ථේරං උත්තමං ධම්ම භණ්ඩකං
යේන භික්ඛු මහා ථේරං සයනේ බන්ධන විද්වංසනං

ඉති ශ්‍රී ලෝක බුද්ධේහී යේන ධම්මානු භාවතෝ
යන්ත්‍ර මන්ත්‍ර හරං කත්වා විනාසං බුද්ධානුභාවතෝ

## <u>මහා මුගලන් මන්ත්‍රය</u>

ඕං නමෝ මුගලන් මහ තෙරුන් වහන්සේ ගුරුළු වෙස් ගෙන ගුරුළු අඳුන පස් තෙලෙන් තෙමා එම තෙලින් තටු දෙක වළ ගසා අවකාශයට පැන නැගී පියාපත් ගසා පියාපත් ගසා ගුරුළු කටහඬින් හඬක් ගැසූ කල අසූ හාර දහසක් පන්දහසක් පන් සැත්තෑ දහසක් විෂ මූර්ජා දා ගියේය. එම මුගලන් මහ තෙරුන් වහන්සේගේ ප්‍රත්‍යක්‍ෂ කළා වූ තෙල් බෙහෙත් ගුලි පංති නස්න අංජනම් බණ මේ ගුරුළු රාජයාගේ ශ්‍රාවකයින්ගේ ආඥාවෙන් ආනුභාවයෙන් මෙම විසේ බසීවා! බසීවා! බසීවා! අදත් (අදාළ කෙනාගේ නම සඳහන් කරන්න) මොහුගේ ඇටගත කළල්ගත මස්ගත ලෝමගත කූපගත සන්ධිගත විස එම දිෂ්ටි කළා වූ තෙලට අඳුනට බසීවා! බසීවා! බසීවා! එම ගුරුළු රාජයාගේ ආඥාවෙන් ආනුභාවයෙන් මෙම සර්ප විසේ බසීවා! බසීවා! බසීවා!

<u>ඉන්පසු (කුඩා මන්ත්‍රය)</u>

නමෝ ගෝතම භගවා සිද්ධි ඕං
හුං හුං පිසියඃ

මේ මන්ත්‍රයෙන්ම අවසානයේ 7 වතාව බැගින් කියල ඉහල සිට පහලට 7 වතාවක් පිසදාන්න.

<u>සැ. යු.</u> :-

ජල නන්දන අලගුව, දෙහි කැපීම, කළු කැම්මේරිය, මහා මුගලන් මන්ත්‍රය, කුඩා මන්ත්‍රය යන මේ සියල්ල අවශ්‍ය වන්නේ ඉනා බන්ධන, අණවින දෝස තියේ නම් පමණයි. සර්ප විස ඉවත් කරන්න අවශ්‍ය වන්නේ කළු කැම්මේරිය, මහ මුගලන් මන්ත්‍රය සහ කුඩා මන්ත්‍රය පමණයි. දෙහි කපා ගැනීම අවශ්‍ය නම් තමන්ටම කර ගන්නත් පුළුවන්. ඒත් කළු කැම්මේරිය තියල දොස් ඉවත් කිරීම තවත් කෙනෙකු ලවා කර ගත යුතුයි. එතකොට ඒ කෙනාට යම් කිසි දෝස බලපෑම් ඇතිවීම වළක්වා ගන්න පළමුව බුදුන් වඳිනකොට "සබ්බ පාපස්ස" ගාථාව 7 වතාවක් සජ්ඣායනා කිරීම ප්‍රමාණවත්. මේ සියලු කටයුතු අවසන් වුනාම ශරීරයේ තිබිල කැපුන විස මුත්‍රා හරහාත් ඉවත් වෙන්න තැඹිලි ගෙඩි 2 - 3 ක් පානය කිරීම වැදගත්.

**<u>විලඳවැන්න</u>** - දියපෙතං ශාකයට සමාන පෙනුමක් තිබුනත් කඳ ඊට වඩා ශක්තිමත්. සුදු පාට මල්වලින් යුක්තයි. සමමිතික හැඩයෙන් යුත් පත්‍ර වට්ටෙම දැති දැති ආකාරයට සකස් වෙලා තියෙනවා. ළපටි දළු ආශ්‍රිත පත්‍ර ළා කහ පාටට

හුරු කොළ පාටයි. තෙත් කලාපයේ ඉතා සුලභ, වියළි කලාපයෙත් වැව්, ඇල දොල, දෙපා වේලි ආදී තෙතමනය තියෙන තැන්වල ඉතා හොඳින් හැදෙන, අව්ව යහමින් වැටුනොත් හොඳින් මල් පිපෙන, වදුල තියෙන ස්ථානවල හැදුනොත් ඒ තරම් මල් දකින්න නැති පඳුරු වශයෙන් හට ගන්නා පැළෑටියක්.

හෙළ වෙදකමේදී සහමුලින්ම ඖෂධ වශයෙන් යොදා ගන්නවා. ඕනෑම අපත්‍ය ආහාරයක් ජීර්ණය කරවීම සුවිශේෂීය ගුණයක්. උදාහරණ විදිහට සමහර අයට කොස් ආහාරයට ගත්තම බඩ පුරවා දමනවා, හුස්ම ගැනීමේ අපහසුතා ඇති කරනවා. නමුත් ඒත් එක්කම විලඳවැන්නත් ආහාරයට එකතු කර ගත්තම ඒ සියලු අපහසුතා දුරු වෙනවා. මලබද්ධය දුරු කරනවා. අර්ශස්, භගන්දරා රෝගීන්ටත් ඉතා ගුණදායකයි. අධික තෙල් මිරිස් සහ රසකාරක යොදා සකස් කළ ආහාර ගැනීමෙන් පසු ඊළඟ ආහාර වේලට විලඳවැන්න එකතු කර ගැනීමෙන් කලින් ගත්ත ආහාරයේ ශරීරයට අපත්‍ය දෑ තියේ නම් ඒවායින් එන අසංකූලතා මග හරවනවා.

විලඳවැන්න දළු, කොළ සාමාන්‍ය පළා ව්‍යංජනයක්, පළා සම්බෝලයක්, සාමාන්‍ය කැඳක් ආකාරයටත්, එහෙම නැත්නම් ඉතා රසවත්ව බැදුමක් ආකාරයටත් සකස් කරගෙන ආහාරයට එකතු කර ගන්න පුළුවන්.

**නියඟ** - පතොක් වර්ගයට ගැනෙන කාෂ්ඨාරෝහක දේශගුණයට හැඩ ගැහුනු ශාකයක්. හෙළ වෙදකමේදී විසහරණ කියලත් හඳුන්වනවා. තද වියළි කලාපයේ බහුලව දකින්න ලැබුනත්, තෙත් කලාපයෙත් හොඳින් හිරු එළිය වැටෙන ගල් සහිත කාෂ්ට ස්ථානවල දකින්න පුළුවන්. අද නාගරික ගෙවල්වල විසිතුරු මල් වගාවක් වශයෙන් වගා කළත් ඒවායින් නිසි ප්‍රයෝජනයක් ගන්නෙ නෑ. නියඟ පත්ත කෝමාරිකා පත්තට සමාන නමුත් ඉතාමත් තද ගතියෙන් යුක්තයි. මෝරපු පතු දියේ දමා කුණු වෙන්න හැර තලාගෙන කෙඳි හොඳින් හෝදගෙන ඉඳිආප්ප තට්ටු හදන්නත් (පිටි ආදී අමුද්‍රව්‍යවල විස තියේ නම් ඉවත් වීම සඳහා), හැඳි එල්ලන හැඳි අළුව හදන්නත් (හැඳිවල තියෙන අපද්‍රව්‍ය, විසබීජ ඇදගෙන ඉවත් වීම සඳහා), ගවයන්ගේ නාස් ලණු හදන්නත් (නාස්වල ඇතිවන තුවාල ඉක්මනට සුව වීම සඳහා), බුලත් කොවුල් ගැට ගහන්නත් (බුලත් කොළවලට පහසුවෙන් ලෙඩ හැදීම අවම කිරීම සඳහා), පිරිත් මණ්ඩප සකස් කරනකොට ගැට ගහන්නත් (අසුද්ධ ශක්තිය පලවා හැරීම සඳහා)... ආදී කටයුතුවලට පැරැන්නන් මේවා යොදා ගත්තා.

ප්‍රබල ලෙස විසහරණ ගතියෙන් යුත් ශාකයක් නිසා හෙළ වෙදකමේදී සර්ප, කෘමි විස මර්දනයට යොදා ගන්නවා. ඒ වගේම අස්ථි බිඳුනු පසු ඒ අස්ථි කොටස් නැවත සකස් කරල පතුරු තියල බඳින ආධාරක ලෙසත් යොදා ගන්නවා. **ප්‍රබල සර්ප දෂ්ට කිරීම්වලදී ක්ෂණිකව නියඟ කොටාගෙන එන ඉස්ම වතුර නොදා, පොල් කිරිත් එක්ක (වතුර පතකින් පමණ මිරිකා ගත්) පානය කරන්න දෙනවා.** නියඟ දඬු (පතු) උණු අලු පල්ලෙ තියල තම්බල කෙඳි ඉවත් කරගෙන සාමාන්‍ය ඉන්නල මාළුවක් ආකාරයට සකස් කරගෙන ආහාරයට ගන්න පුළුවන්. එහෙම නැත්නම් සාමාන්‍ය කැඳක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්.

නියඟ මෝරපු පතු තිත්ත රසයෙන් යුක්ත නිසා තම්බල දිය හැරල හෝ උණු අලු පල්ලෙ තියල මිසක් ආහාරයට ගන්න බෑ. ඖෂධීය ගුණ ගත්තොත් මලබද්ධය දුරු කරනවා. ශරීරයේ පද්ධති යථා තත්වයට පත් කරනවා. වස විස නිසා හට ගන්නා ආසාදන වහා දුරු කරනවා. නිරන්තරයෙන් කෘතිම ආහාරපාන ගැනීම නිසා හට ගන්නා බඩ පිපුම, බඩ පුරවා දැමීම, වස විස සහිත ආහාර දීර්ඝ කාලයක් ගැනීම නිසා පද්ධතිවල හට ගන්නා දුර්වලතාවයන් මග හරවනවා. මහ බඩවැල තුල තියෙන පද්ධති 11 ම සක්‍රිය කිරීමේ ගුණයෙන් යුක්තයි.

**ගොඩපර** - අධික සීත කලාපයේත්, අධික ශුෂ්ක කලාපයේත් හැරුනම ලංකාව පුරාම දකින්න තියෙන ශාකයක්. වඳුරන්, කැඳෑත්තන්, බටගොයින්, මාවවුලන් විතරක් ආහාරයට ගන්නා, අද වෙනකොට මනුස්සයා දැවමය අවශ්‍යතා සඳහා විතරක් උපයෝගී කර ගන්නා ශාකයක්. පර, දියපර, ගොඩපර... ආදී වශයෙන් ගොඩපර වර්ග කිහිපයක් දකින්න පුළුවන්. මේවා හෙළ වෙදකමේදී ඖෂධ සඳහා යොදා ගන්නවා.

හොඬපර කියල ගොඩපරවලම තවත් ප්‍රභේදයක් තිබුනත් ඒක තරමක් වෙනස්. ගොඩපර ගස් බඩවැටි, වතු මායිම්, ගංගා, ඇල දොළ, කුඹුරු වේලි අද්දරත්, ස්වභාවික වනාන්තරවලත්, ගමේ ගොඩේ ගම් තුලානේ හැම තැනමත් ස්වභාවිකව වැවෙන දැවමය ආර්ථික වටිනාකමක් සහිත අඩි 50 - 100 ක් විතර උසට වැඩෙන ශාකයක්. නා මලට සමාන සුදු පාට අලංකාර මලක් හට ගන්නවා. පරාගණය වුනාට පසු ගෙඩි හට ගන්නවා. පුවක් ගෙඩියකට වඩා ලොකු වෙන්නෙ නෑ. ගෙඩි ළා කොළ පාට හා දම් පාට මිශ්‍රයි. ගෙඩියේ පියන් 5 - 6 ක් පිහිටනවා. ගෙඩිය මැද ඇට සමග මාංශමය දියරයක් තියෙනවා. තද ඇඹුල් ගතියකින් යුක්තයි. අදටත් විවිධ නිෂ්පාදනයන් කරන්න ගොඩපර යොදා ගන්නවා. ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි.

හොඬපර ගොඩපරවලට වඩා විසාලව හැදුනත් ඖෂධ සඳහා සහ පහන් පත්තු කරන්න විතරක් යොදා ගන්නවා. දැවමය වටිනාකමක් නෑ. මොකද ලීය ශක්තිමත් නෑ. ගංගා ඇල ඉවුරු අසළ බහුලව දකින්න පුළුවන්. ගෙඩි ළා කොළ පාටයි. ලෙලි ගහපු පොල් ගෙඩියක් තරම් විසාලව වැඩෙනවා. මේවත් පියන් 5 - 6 ක් සහිතයි.

ගොඩපර ඉතා සීත ගුණයෙන් යුක්තයි. ඇස් පෙනීම තිව්ර කිරීම, හිසකෙස් වර්ධනය කිරීම, කෝටරකවල තැන්පත් වෙලා තියෙන සෙම වහා ගලවල බුරුල් කිරීම සහ ඉතා ඉක්මනින් ශරීරයෙන් ඉවත් කිරීම, ගල් වූ සෙම ඉවත් කිරීම, ස්නායු උත්තේජනය කිරීම, බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කිරීම, මලබද්ධය දුරු කිරීම, ආහාර ජීර්ණ පද්ධතියේ ඇති සංකූලතා යථා තත්වයට පත් කිරීම ගොඩපරවල ඖෂධීය ගුණයන් අතර වෙනවා. රක්තය තියෙන අයට ඉතාමත් ගුණදායක ආහාරයක්. ගොඩපර අධික සීතල ආහාරයක් නිසා සෙම බහුල අය ආහාරයට ගැනීමෙන් වළකින්න.

පැරැන්නන් ස්නානය කරනකොට සබන්, ෂැම්පු වෙනුවට භාවිතා කළේ මේ ගොඩපර ගෙඩි. දැන් වුනත් මේවා භාවිතා කරනව නම් හිස ආශ්‍රිත බොහොමයක් රෝග නිවාරණය කරගන්න පුළුවන්. **ගොඩපර ගෙඩි තලාගෙන එන නානු හිසේ ගල්වල අවම වශයෙන් විනාඩි 40 ක් විතර තියෙන්න හැරල දවල් 12.00 ට පෙර ස්නානය කිරීමෙන් කෝටරකවල තැන්පත් වෙලා තියෙන සෙම ගලවල ඉවත් කරල, හිස්හොරි, අකලට හිසකෙස් පැසීම, වැටීම, කෙස්වල වර්ණය අව පැහැ ගැන්වීම, ඇස් යට කළු වීම, මුහුණ කළු තලා වැටීම... ආදිය දුරු වෙනවා.** හිස ආශ්‍රිත ස්නායු උද්දීපනය කරනවා. හැබැයි පීනස් රෝගීන් නම් එක දිගට දින 7 කට වඩා මේ ක්‍රමවේදය පාවිච්චි කිරීමෙන් වළකින්න. මොකද පීනස් අමාරුව පපුවට බහින්න පුළුවන්. අනෙක් අයට දිගටම පාවිච්චි කරන්න පුළුවන්. ඉතින් පෙර කාලෙ ඒ විදිහට නානු හිසේ ගල්වල රෙදි ටික හෝදනකොට විනාඩි 40

# නොපළ වූ ගුණ කඳ XXIII

## අභයරතනාලංකාරය - 94



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

මග ඵල ප්‍රකාශ කිරීම සම්බන්ධයෙන් මේ වෙනකොට විවිධ මතිමතාන්තර සමාජයේ ඇතිවෙලා තියෙනවා. කෙනෙක් කියනවා මග ඵල ප්‍රකාශ කිරීම අකැපයි කියල. තවත් පිරිසක් මග ඵල ප්‍රකාශ කරන්න ඕන කියන අදහස දරනවා. ඒ කෙසේ වෙතත් මේ කාරණය ත්‍රිපිටක දහමේ එන සූත්‍ර දේශනා ගණනාවකම සඳහන් වෙලා තියෙන නිසා නිවැරදි ක්‍රමවේදය දැන ගැනීම අපහසු දෙයක් නෙවෙයි. ඒ අනුව **මග ඵල ප්‍රකාශ කරන උදවිය හතර කොටසක් ඉන්න බව සඳහන් වෙනවා. පිස්සා පිස්සුවට කියනවා. මුලා වෙච්ච පුද්ගලයා මුලාවෙන් ප්‍රකාශ කරනවා. කපටියා ලාභ, කීර්ති, ප්‍රසංසා බලාපොරොත්තුවෙන් කියනවා. සුදුස්සා සුදුසු තැනදි සුදුසු නම් සුදුසු ආකාරයෙන් ප්‍රකාශ කරනවා.**

දැන් කාරණය පැහැදිලියි. මග ඵල ප්‍රකාශ කරන්න එපා කියල නියමයක් නෑ. මොන අදහසින් කියනවද කියන කාරණය තමයි ඒ අවස්ථාවෙදි බලන්න ඕන. මෙතැනදි බොරුවට මග ඵල ප්‍රකාශ කිරීම නැති ගුණ හැඟවීමට තමයි වැටෙන්නෙ. එතැනදිත් කපටියා ලාභ කීර්ති ප්‍රසංසා බලාපොරොත්තුවෙන් ප්‍රකාශ කළොත් ඒක ඉතා භයානකයි. අපාගත වෙන්න තරම් බලවත් පාපයක් වෙනවා. මේ සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට යොමු කළ ප්‍රශ්නයකට පිළිතුරු විදිහට උන්වහන්සේ කෙටියෙන් ඒ කාරණය මේ විදිහට පැහැදිලි කළා.

සාසනයෙන් ගසාගෙන කන්න කවුරුහරි කපටිකමට මග ඵල කිව්වොත් එතැනදි ගිහි පැවිදි භේදයක් නෑ. රවට්ටගෙන කන අදහසින් කිව්වොත් එහෙම හරි භයානකයි. සාසනය කෙරෙහි පැහැදිලා යමක් දුන්නම ඒක ලාභ කීර්ති ප්‍රසංසා බලාපොරොත්තුවෙන් පුද්ගලිකව විඳින්න බලාපොරොත්තු වෙනව නම් ඒක අපරාධයක්. මොකද එතැනදි කෙනෙක් යමක් දෙන්නෙ ගුණයක් දැකල බුද්ධ සාසනය උදෙසා පැහැදිලා මිසක් පුද්ගලිකව පැහැදිලා නෙවෙයි. ඒ නිසා ඒවා බුද්ධ සාසනය උදෙසා අයිති වෙන්නෙ. එතකොට ඒ පුද්ගලයා, එහෙම නැත්නම් ඒ භික්ෂූන් වහන්සේ, මම මෙහෙම ගුණයක් තියෙන කෙනෙක් කියල ප්‍රකාශ කළොත්, අහගෙන ඉන්න අය ඒ නිසාම පැහැදිලා මොන විදිහකින් හරි උදව්වක් උපකාරයක් කරල යනවා, අනේ අපිටත් පිනක් සිද්ධ වෙනවනෙ කියල. එතැනදි ඇත්තටම ඒ පුද්ගලයා ගුණවතෙක් නම් කිසි ගැටළුවක් නෑ. නමුත් එහෙම නොවුනොත් තමයි ගැටළුව. එතකොට ඒ ගුණ, කටින් එල්ල කරලම කියන්න අවශ්‍ය නෑ. ඇඟෙව්වොත් ඒකත් ඇති.

හැබැයි පිස්සා පිස්සුවෙන් මග ඵල කිව්වොත් ඒ පුද්ගලයට ඇවැත් නෑ. මුලාවෙන් කිව්වත් ඒත් ඇවැත් නෑ. මොකද තමන්ට මෙහෙම අවබෝධයක් තියෙනව කියල, ඒක හරියි කියල හිතාගෙන ඒ කෙනා මග ඵල කියනව මිසක් කවුරුවත් රවට්ටන අදහසකින් කියනව නෙවෙයි. නමුත් ඒ වගේ කෙනෙක් එහෙම රැවටෙන්නෙත් නිකම්ම නෙවෙයි. ඒකත් විපාකයක්. සසරෙදි අනුන් මුලා කරල රවට්ටපු එකේ විපාක තමයි ඒ විදිහට එන්නෙත්. එතැනදි මුලා වෙච්ච පුද්ගලයා මුලාවෙන් තවත් මුලාවට පත්වෙලා තවත් විපාක හදා ගන්නවා. හැබැයි ඒක අර කපටියා කපටිකමින් කියනව වගේ බලවත් නෑ. පාරාජිකාවට වැටෙන්නෙ නෑ. නමුත් මේ වගේ අවස්ථාවකදි ඒ මුලා වෙච්ච කෙනාව යථාර්ථයට ගන්න ඒ මුලාව තේරුම් කරල දෙනවා. ඒ සඳහා කිහිප වතාවක්ම උත්සාහ කරනවා. ඒ කියන්නෙ ආයතන වශයෙන්, ස්කන්ධ වශයෙන්, ධාතු වශයෙන්, පටිච්ච සමුප්පාද වශයෙන්... තමන් ලබපු අවබෝධය ගැන ප්‍රශ්න අහනවා. දහම ගැන දන්න කියන, අවබෝධයක් තියෙන කෙනෙක් තමයි එහෙම ප්‍රශ්න අහන්නත් ඕන. එතැනදි පාලි භාෂාවෙන් නෙවෙයි අහන්නෙ. ඒ පුද්ගලයගෙ භාෂාවෙන්. එතකොට තමන්ට වැටහිච්ච හැටි කියල දෙන්න ඕන. එහෙම

---

දන්නෙම නැතිව යනවා. ඒ නිසා එතකල් නිකං බලාගෙන ඉන්න අවශ්‍යත් නෑ.

ගොඩපරවල ආහාරයට ගන්නෙ ගෙඩි විතරයි. ඉදුනෙ නැති ගොඩපර ගෙඩි කඩාගෙන හොඳින් සෝදාගෙන පියන් ටික විතරක් ගලව ගන්න. ඉන්පසු ඒ පියන් සාමාන්‍ය අඹ මාලුවක්, ඇඹරැල්ල මාළුවක් සකස් කරන ආකාරයට සකස් කරගෙන ආහාරයට එකතු කරගන්න පුළුවන්. එහෙම නැත්නම් ගෙඩි පිටින්ම 4 - 5 ට පලල උණු දියේ දමා සාමාන්‍ය ප්‍රමාණයකට තැම්බුනාට පසු, සාමාන්‍යයෙන් අල තෙල් දමන ආකාරයට තෙල් දමා බැදුමක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්. එහෙම නැත්නම් බැදුමකට, හොද්දකට ඇඹුල සඳහා යොදා ගන්නත් පුළුවන්. ළපටිම ගෙඩිවල පියන් විතරක් ගලවගෙන හීන් වෙන්න ලියල රතු ළූණු, පොල්, අමු මිරිස්, ලුණු අවශ්‍ය පමණට එකතු කරල පළා සම්බෝලයක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්. ඉදුනු ගෙඩි ආහාරයට ගැනීමෙන් වළකින්න. මොකද ගෙඩි ඉදෙනකොට පිනුල් මැස්සන්, කෝඳුරුවන් බිත්තර දමන නිසා ආහාරයට නුසුදුසුයි. ඒ වගේම ගෙඩිවල පලුදු තියේ නම් ඒවා මාවවුලන් දත ගැසූ ගෙඩි නිසා ඒවත් ආහාරයට ගැනීමෙන් වළකින්න.

සටහන
නීතිඥ චන්දන සිරිවර්ධන

ඇහුවම ඒ පුද්ගලයා විස්තර කරනකොට අතරමග හිර වෙනවා, විස්තර කරන්න බැරිව යනවා...

දැන් මේ මග ඵල ප්‍රකාශ කිරීම ගැන එක්තරා භික්ෂූන් වහන්සේ නමක් සම්බන්ධයෙන් අත්දැකීමකුත් උන්වහන්සේ මේ විදිහට විස්තර කළා. හැබැයි ඒ අවස්ථාවෙ කපටිකමට කිව්වද, මුලාවෙන් කිව්වද කියල අපිට නිගමනය කරන්න පුළුවන්කමක් නෑ. නමුත් එතැන නොගැලපීමක් තියෙනවයි කියන කාරණය නම් ඉතා පැහැදිලියි. මේ තමයි උන්වහන්සේගේ අත්දැකීම.

එක්තරා නායක මට්ටමේ භික්ෂූන් වහන්සේ නමක් දවසක් තවත් ගෝල හාමුදුරුවො කිහිප නමක් එක්ක මාව මුණගැහෙන්න මේ විහාරස්ථානයට වැඩියා. අපිත් ඉතින් මේ වගේ නිවන් දකින දහම් සාකච්ඡා කරනවා, පිරිස යනව එනවා කියන ආරංචියට තමයි වැඩියෙ. මේ නායක හාමුදුරුවො ඇවිත් තමන්ගෙ තරුණ ගෝල හාමුදුරුවො නමක් පෙන්වල කියනවා, මට නම් දැනගන්න දෙයක් නෑ, මේං මෙයාට තමයි මේ දැනගන්න තියෙන්නෙ තවම ඉතින් පර්යේෂණ කරනවනෙ කියල. ඊට පස්සෙ කියනවා, මගේ මේ ගෝලයා අනාගාමී, එතකොට ඉතිං මං ගැන හිතාගන්න පුළුවන්නෙ කියල. දැන් මේ තමන් අරිහත් කියල නොකියා අර විදිහට ව්‍යංගයෙන් ඇඟෙව්වා. ගෝල හාමුදුරුවන්ව පාවා දීල තමයි ඒක කළේ. ඒත් එක්කම මේ දහම ගැන හොයමින් හිටපු තවත් පුංචි හාමුදුරුවරු දෙනමකුත් මේ නායක හාමුදුරුවොත් එක්ක ඇවිත් හිටියා. ඒ අයත් පෙන්වල, ආවොත් ඒ අයට ඕන දෙයක් කියල දෙන්න කියල මට අවසරත් දුන්නා. මේ පොඩි හාමුදුරුවො කියනවා, අපි හරි කැමතියි නිවන් දකින්න, අපිට නිවන් දකින්න ඕන කියල. ඊට පස්සෙ මේ නායක හාමුදුරුවො, මම පස්සෙ වෙලාවක එන්නම් කියල අනෙක් හාමුදුරුවරුත් එක්ක යන්න ගියා.

ඔහොම ඉන්නකොට දවසක් ඒ පන්සලේ හිටපු අර පොඩි හාමුදුරුවො දෙනම මාව මුණගැහෙන්න තනියම වැඩල දහම් සාකච්ඡා කරල බණ භාවනා කරන්න මෙහේ නතර වුනා. පස්සෙ බලනකොට මේ හාමුදුරුවො දෙනම එහේ පන්සලේ ඉඳල එක පාරටම ආගිය අතක් නැතිව හැමතැනම හොයනවලු. අන්තිමට ලොකු හාමුදුරුවො ගමේ පිරිසත් එක්ක එකතු වෙලා ආරංචියට හොයාගෙන මෙහේ ආවා. එතකොට ඒ පොඩි හාමුදුරුවොත් මේ ස්ථානයට ඇවිත් මාත් එක්ක ධර්ම සාකච්ඡා කරල බණ භාවනා කරනවා. අන්තිමට මේ නායක හාමුදුරුවො මොකද කළේ, අර පොඩි හාමුදුරුවන්ට මම ඉදිරියේදීම ගැහුවා. පොඩි පහරකුත් නෙවෙයි. මහ සැර පහරකින් ඔළුවට ගැහුවෙ. මම කිව්වා, ඕක කරන්න එපා මෙහේ සෙල්ලම් කරන්න දෙන්න බෑ, මොකක් හරි ප්‍රශ්නයක් තියේ නම් විසඳගන්න කියල. දැන් මේ ගහන්න හේතුව පන්සලෙන් නොකිය ආවා කියල. දැන් මේ පොඩි හාමුදුරුවො කියනවා, අපිට යන්න බෑ නිවන් දකින්න ඕන කියල. ඕකට මේ නායක හාමුදුරුවන්ට හොඳටම කේන්ති ගියා. පස්සෙ මං ඇහුවා රහතන් වහන්සේට මෙහෙම තරහ යනවද කියල. මොකද මේ හාමුදුරුවො කලින් දවසක ඇවිත් අර විදිහට අරිහත් භාවයත් අඟවලනෙ ගියේ.

මම කිව්ව ඉතින් ඔහොම ඒවා තමයි අද කාලෙ රටේ තොටේ වෙන්නෙ කියල. අන්තිමට මේ නායක හාමුදුරුවො මේ පොඩි හාමුදුරුවො ගැන වැරදි වැටහීමක් ඇතිවෙන විදිහට අසභ්‍ය වචනයකුත් කිව්වා.ගමේඅයගෙන්අහලබලන්නකෝ ඔයගොල්ලො පන්සල පැත්තෙ එන්නෙ නැත්තෙ මොකද කියල, ඔය අය කාමයට පුරුදු වෙලා තියෙන්නෙ කියල ඔය විදිහෙ නීච කතාවකුත් කිව්වා. ඒ කියන්නෙ මේ පොඩි හාමුදුරුවරු කාමුක වැඩ කරල මුහුණ දෙන්න බැරිව ලැජ්ජාවෙන් ඉන්නව වගේ කතාවක් තමයි කිව්වෙ. හැබැයි පොඩි හාමුදුරුවන්ගෙන් ඇහුවම කියනවා, අනේ අපිට නිවන් දකින්න ඕන ඒකයි අපි එන්නෙ නැත්තෙ, අපිට භාවනා කරන්න දීල තියෙනවා, ඒ භාවනාව අපි හොඳින් වඩනවා, ඒක අපිට හරි ශාන්තයි කියල. අපි නම් ආයෙ යන්නෙ නෑ කිව්වා. එතකොට එතැන හිටපු අනෙක් පිරිසත් ඒ පොඩි හාමුදුරුවරුන්ගෙ කතාව අහල අඬන්න පටන් ගත්තා. මම ඉතින් මෙහෙම කිව්වා. මේ නායක හාමුදුරුවොත් එක්ක මෙතැනට ඇවිත් උන්වහන්සේ අනුමත කරපු නිසයි මම මේ පොඩි හාමුදුරුවරු බාර ගත්තෙ. නමුත් දැන් මොනව කරන්නද, මේ නායක හාමුදුරුවන්ගෙ කීම අනුව මේ පොඩි අයව නීත්‍යානුකූලව මෙහේ තියාගන්න විදිහක් නැනෙ. සමාදානව ආව නම් තියාගන්න තිබුනා, බණ දහම ගැන කියා දෙන්න තිබුනා. ඉතින් මට කරන්න දෙයක් නෑ. මෙහෙම අවුල් අවස්ථාවක් නම් ඒ හාමුදුරුවන්ගෙ ගෝලයො මට තියාගන්න බෑ කියල මම කිව්වා.

පස්සෙ මේ නායක හාමුදුරුවො ඒ පොඩි හාමුදුරුවො දෙනම අරගෙන ගියා. අර අනාගාමී කියල කියපු අනෙක් තරුණ හාමුදුරුවන්ට කැමැත්තක් කරගන්න කිව්වා. ඒ නිසා ඒ හාමුදුරුවො විතරක් නැවතුනා. ගියාට පස්සෙ ඒ තරුණ හාමුදුරුවො මාත් එක්ක කියනවා, අනේ හාමුදුරුවනේ මට සමාවෙන්න අපේ නායක හාමුදුරුවො මාව අනාගාමීයි කියල කිව්වට මම නම් එහෙම කියන්නෙ නෑ, මම මේ කාමය යටපත් කරගෙන ඉන්නෙත් බොහොම අමාරුවෙන් කියල. ඉතින් ඒ හාමුදුරුවො අවංකවම ඇත්තම තත්වය කිව්වා. හැබැයි නිවන් දකින්න බොහොම උනන්දුවක්, නැණ නුවණක් තියෙන හාමුදුරුවො නමක්. ඒ නිසා ඉතින් මමත් මුල ඉඳලම මේ දහම ගැන විග්‍රහ කරල දුන්නම ඒ දහම් ගැටළුත් ලිහාගෙන භාවනා කරගෙන ඉඳල යම් කිසි අවබෝධයක් ඇතිව තමයි මේ ස්ථානයෙන් පිටත් වුනේ.

පස්සෙ කොහොම හරි අර පොඩි හාමුදුරුවො අපවත් වුනා කියල මට ආරංචි වුනා. ඒකාන්තයෙන් මම හිතනවා, අර නායක හාමුදුරුවො නිකං හිටියෙ නෑ මොනවහරි කරන්න ඇති කියල. ඒ තරම් මහා දරුණු කෙනෙක්, මොකක් හරි මානසික රෝගයක් තියෙන කෙනෙක්. ඒ හාමුදුරුවන්ගෙ පවුලෙ අනෙක් අයත් මහණ වෙලා ඒ හාමුදුරුවොත් මහණ වුනා කියල අන්තිමට උපසම්පදා වුන ගමන් තමයි මේ පොඩි හාමුදුරුවො දෙනමත් මහණ කරල තිබුනෙ. නියම විදිහට උපසම්පදා වෙලා අවුරුදු 10 ක් යන්න ඕන තවත් කෙනෙක්ව මහණ කරන්න. ඒවත් කරගෙන ඉතින් මේ පොඩි අයව හික්මවා ගන්න බැරි හැටි. ඇත්තටම අමුතුවෙන් හික්මවන්න දෙයක් නෑ. මේ පොඩි හාමුදුරුවො හරිම හොඳයි. මොනව කරන්නද ඉතින් සංසාරෙ හැටි තමයි. නිවන් දැකල සසර ගමන කෙළවර කරගන්න කල් ඔය වගේ කොච්චර නම් කරදරවලට මුහුණ දෙන්න වෙනවද?

---

ඒ වගේම තමයි විශේෂයෙන් පසුගිය අවුරුදු කිහිපයක් තිස්සේ පටන් මේ නිවන් දකින බණ භාවනා කරන, බණ දේශනා කරන භික්ෂූන් වහන්සේලාට සාසනය ඇතුලෙ ඉඳගෙනම යම් යම් අභූත චෝදනා, අපවාද එල්ල කරපු පිරිස් හිටියා. ධර්මය විකෘති කරනවයි කියමින් විවිධ ජන මාධ්‍ය අල්ලගෙන පහර ගැහුවා. වහරක අභයරතනාලංකාර

හාමුදුරුවන්ටත් අභූත චෝදනා එල්ල කරමින් ඒ වගේ පහර ගහපු අවස්ථා ඕන තරම් තිබුනා. විශේෂයෙන් එක්තරා භික්ෂූන් වහන්සේ නමකගේ ඒ කාලෙ ප්‍රධාන කාර්ය භාරය වෙලා තිබුනෙ මොකක් හරි ජන මාධ්‍යයක් අල්ලගෙන වහරක හාමුදුරුවන්ට අභූත චෝදනා කරමින් පහරදීම. ශ්‍රව්‍ය දෘශ්‍ය මාධ්‍ය දෙකෙන්ම ඒ භික්ෂූන් වහන්සේ ඒ විදිහට කටයුතු කළා. මොකද වහරක හාමුදුරුවන්ගෙ දේශනා විවිධ ක්‍රමවලින් ප්‍රසිද්ධියට පත් වෙලා වහරක පන්සලට රටේ හතර වටින්ම වැල නොකැඩී සෙනග එන්න ගත්තම ඉවසුම් නැතිව ගියා.

කොහොම හරි මේ කාලය වෙනකොට එක්තරා ගුවන් විදුලි නාලිකාවක් සමාජයේ අවැඩ අසාධාරණකම්, අයුතු දේවල් පෙන්වා දෙන්න කියල එක්තරා ආකාරයක ප්‍රහාරාත්මක වැඩසටහන් මාලාවක් ආරම්භ කරල තිබුනා. ඒවාට සම්බන්ධයි කියන පුද්ගලයන්ගෙ හඬ පටිගත කරල ඒවාට විවිධ අර්ථකතන දෙමින් තමන් මහා කාර්ය භාරයක් කරනවා වගේ තමයි ඒ අය ලෝකය ඉදිරියේ පෙනී සිටියෙ. මොකද ඒ අය කරපු මුල් වැඩසටහනකින් දෙකකින් ඒ වගේ හෙළිදරව් කිරීම් කිහිපයක් කරල සාර්ථක වෙලා තිබුන නිසා යම් කිසි ජනප්‍රියත්වයක් තිබුනා. ඊට පස්සෙ තමන්ගෙ නාලිකාව ප්‍රසිද්ධ කර ගන්න ලාභ, කීර්ති, ප්‍රසංසාවලට ගිජු වෙලා කිසිම හෙවිල්ලක් බැලිල්ලක් නැතිව හිතුමතේ පහර දෙන්න පටන් ගත්තා. ඉතින් මේ කියන භික්ෂූන් වහන්සේත් වහරක පන්සල සහ වහරක හාමුදුරුවො ගැන අසත්‍ය තොරතුරු ලබා දීල මේ වැඩසටහනෙන් ප්‍රහාර කිහිපයක්ම එල්ල කළා. ඒ අය එතැනදි එක්තරා උපක්‍රමයක් පාවිච්චි කරනවා. ඒ වැඩසටහන මෙහෙයවන එක්තරා කාන්තාවක් දුරකතනය ඔස්සේ අදාළ පුද්ගලයන්ව පොළඹව ගන්න විදිහට තමයි කතා කරන්නෙ. එහෙම කතා කරල තමයි මෙන්න මේ විදිහෙ සුද්ධවන්තයො වගේ ඉන්න අයගෙ හැසිරීම මෙහෙමයි කියල ඒ සංවාද පටිගත කරල ප්‍රචාරය කරන්නෙ.

ඉතින් ඒ කාලෙ මම එක්තරා ජාතික පුවත්පතකට ඒ පුවත්පතේ ප්‍රධාන කතුවරයාගේ ආරාධනයෙන් වහරක හාමුදුරුවො මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් පළ කරපු ලිපි පෙළක් බොහොමයක් පින්වතුන් අතරට ගිහින් ප්‍රසිද්ධ වෙලා තිබුන නිසා අර භික්ෂූන් වහන්සේ ඒ පුවත්පතටත් නොයෙක් බලපෑම් කරල තිබුනා. බැරිම තැන මේ ගුවන් විදුලි නාලිකාවේ වැඩසටහනකින් ප්‍රහාර එල්ල කළා. කොහොම හරි ඔය නාලිකාවෙන් මටත් දවස් 2 - 3 ක් කතා කරල කොටු කරගන්න උත්සාහ කළත්, මම එක එල්ලේම ඊට උත්තර දීපු නිසා ඒ උත්සාහය අසාර්ථක වුනා. දෙතුන් වතාවක්ම අමුතු විදිහට දුරකතන ඇමතුම් එනකොට යම්කිසි අමුත්තක් දැනුන නිසා මමත් ඒවායින් කිහිපයක් පටිගත කළා. එදා වෙච්ච ඒ දුරකතන සංවාදයේ පටිගත කිරීම් 2 ක් අදටත් මගේ ජංගම දුරකතනයේ සාක්ෂි විදිහට තියෙනවා. දින 3 - 4 ක් ගියාට පස්සෙ මම මේ කාරණය තවත් මිතුරෙකුට අහන්න සැලැස්සුවම ඔහු තමයි කිව්වෙ මේ අර ගුවන් විදුලි නාලිකාවේ අහවල් වැඩසටහන මෙහෙයවන කාන්තාවනෙ කියල. එතකල්ම මමත් ඒ ගැන දැනගෙන හිටියෙ නෑ. කොහොම හරි මම මේ කාරණය ගැන ඒ අලුත දවසකම වහරක හාමුදුරුවො එක්කත් කිව්වා, මෙන්න මෙහෙම දුරකතන ඇමතුම් කිහිපයක් මට ලැබුනා, මම ඒවාට මේ විදිහට උත්තර දුන්න කියල. ඊට දවස් කිහිපයකට පස්සෙ මේ නාලිකාව ඒ කාන්තාවම යොදාගෙන වහරක පන්සලටත් කතා කරල තිබුනා. ඒ කතාව වහරක හාමුදුරුවො මේ විදිහට කිව්වා.

දුරකතනය නාද වෙනකොට ඒකට උත්තර දෙන්න කවුරුවත් හිටපු නැති නිසා මම අරගත්තා. එහා පැත්තෙන් එක්තරා කාන්තාවක් අමුතු විදිහකට තමයි කතා කළේ. හැබැයි ඒ අය දන්නෙ නෑ මේ මම තමයි උත්තර දෙන්නෙ කියල. ඉස්සෙල්ලම ඇහුවා මේ පන්සලේ නම මොකක්ද කියල. මට ඒ වෙද්දි යමක් දැනුන නිසා මමත් මොකද කළේ, බොහොම හෙමින් වචනයෙන් වචනය වෙන් කරල තේරුම් ගන්න පුළුවන් විදිහට, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය කියල කිව්වා. ඊළඟට අහනවා මේ පන්සලේ විහාරාධිපති හාමුදුරුවො කවුද කියල. ඒකටත් මම අර විදිහටම හෙමිහිට වචනයෙන් වචනය උත්තර දුන්නා, වහරක අභයරතනාලංකාර කියල. ඒ පාර මේ මනුස්සය එක පාරටම අහනවා, ඒ කියන්නෙ අර සෝවාන් වුනා කියන හාමුදුරුවොද කියල. ඒත් එක්කම මම කිව්වා, ඒ හාමුදුරුවො කවදාවත් එහෙම කියල නෑ කියල. කියනකොටම දුරකතනය තිව්වා.

දැන් බලන්න මේ කතා කළේ ඒ සංවාදය පටිගත කරගෙන ඒ අයට ඕන විදිහට දත්ත ටික ගන්න. හැබැයි මේ කාන්තාව දැනගෙන හිටියෙ නෑ මේ කතා කරන්නෙ මම කියල. බැරි වෙලාවත් අර සෝවාන් වුන හාමුදුරුවොද කියන ප්‍රශ්නයට මම ඔව් කියල උත්තර දුන්න නම්, ඕක පටිගත කරල මෙන්න මේ හාමුදුරුවො තමන් සෝවාන් කියල ප්‍රකාශ කරනවා කියල ඕක ප්‍රචාරය කරල මඩ ගහනවා. නමුත් මම අර විදිහට උත්තර දීපු නිසා ඒ අයට මුකුත් කරගන්න බැරිව ගියා. ඒ නිසා එතැනම දුරකතනය විසන්ධි කළා. කොහොම හරි එදා හොඳ වෙලාවට මමම තමයි දුරකතනයට උත්තර දුන්නෙ. සමහර විට වෙන කෙනෙක් උත්තර දුන්න නම් නොදන්නකමට උත්තර දීල කොටුවෙන්න තිබුනා. **ඉතින් මග ඵලයක් ඔය විදිහට ප්‍රසිද්ධියේ ප්‍රකාශ කරල මට මොනවා ලබා ගන්නද? මට එහෙම ලාභ කීර්ති ප්‍රසංසා**



දහම් සාකච්ඡාවලට පැමිණි තරුණ යුවළකගේ
විවාහ මංගලයයට සමවත් සිතින් ආශිර්වාද කරමින්

**මොකටද? මම කවදාවත් ඔය කියන විදිහට ප්‍රසිද්ධියක් ගන්න කාත් එක්කවත් මග ඵලයක් ප්‍රකාශ කරල නෑ. මග ඵල කියන්නෙ එහෙම අඬබෙර ගහල ලාභ කීර්ති ප්‍රසංසා ගන්න ප්‍රකාශ කරන දේවල් නෙවෙයි. සුදුස්සා විසින් සුදුසු තැනදි සුදුසු නම් සුදුසු විදිහට ප්‍රකාශ කරන උත්තරීතර ගුණයක්. ඒ ප්‍රකාශ කරන්නෙත් තමන්ට ලාභ, කීර්ති, ප්‍රසංසාවක් ගන්න නෙවෙයි, ලෝකයා කෙරෙහි දයානුකම්පාවෙන්.**

-----------------------------

වහරක හාමුදුරුවන්ගෙන් ශ්‍රාවකයින් අහපු ප්‍රශ්නවලට වුනත් උන්වහන්සේ බොහොම අනතිමානීව දහමට ගලපල තැනට සුදුසු විදිහට තමයි උත්තර දුන්නෙ. කවදාවත් ආවාට ගියාට උත්තර දුන්නෙ නෑ. මීට අවුරුදු 12-13 කට විතර පෙර උන්වහන්සේ වහරක පන්සලේ ධර්ම සාකච්ඡාවක් පවත්වමින් ඉන්නකොට 30-40 ක විතර පිරිසක් ඒකට සහභාගි වෙලා හිටියා. ඒ අවස්ථාවෙදි උන්වහන්සේ මේ දහම් පදවල සැඟවුනු අරුත් කියන පද නිරුක්ති ගැන තමයි විග්‍රහ කළේ. ඒ විග්‍රහය හරි සිත් ගන්නා සුළුයි. දහමට අනුව විග්‍රහ කරල අකුරෙන් අකුර නිරුක්ති ශබ්දාර්ථය එන විදිහට වචන කඩල පෙන්වනවා. නිරුක්ති පටිසම්භිදා ඥානය ගැනත් පෙළ දහමට අනුව විග්‍රහ කළා. කොහොම හරි ඉතින් අහගෙන ඉන්න පිරිසට වැටහෙනවා, මුන්වහන්සේ අවංකවම තමන්ගෙ තියෙන විශේෂ හැකියාවකින් තමයි මේ විදිහෙ සුවිශේෂීය විග්‍රහයක් කරන්නෙ කියල. එතැන හිටියා ත්‍රිපිටකය ගැනත් හදාරල ලෝක සම්මතයෙත් හොඳ දැනුමක් තිබ්ච්ච උපාසක මහත්තයෙක්. මේ විග්‍රහය ගැන පැහැදුන ඒ උපාසක මහත්තයා විවෘතවම පිරිස ඉදිරියේ මෙහෙම ප්‍රශ්නයක් ඇහුවා.

“මට වැටහෙනවා ඔබවහන්සේටත් ඒ නිරුක්ති පටිසම්භිදා ඥානය වැඩිල තියෙන විත්තිය” වහරක හාමුදුරුවොත් ඉතින් කිසිම කලබලයක් නැතිව ඒකට උත්තර දුන්නෙ මේ විදිහට.

“ඔව් එක්තරා මට්ටමක් තියෙනවා. මම නෑ කියන්නෙ නෑ. පේන්න තියෙන දේ නොකිය බැරි නිසා කියනවා. ඒ නිසා තමයි වචනයේ යථාර්ථය මතු කරල දෙන්නෙ.”

උන්වහන්සේ බොහොම අනතිමානීව තමයි ඒ උත්තරය දුන්නෙ. දැන් බලන්න අර උපාසක මහත්තය අර වගේ ප්‍රශ්නයක් ඇහුවෙ නැත්නම් උන්වහන්සේ කීයටවත් ඒ වගේ ප්‍රකාශයක් කරන්නෙ නෑ. මොකද තමන්ගෙ හැකියාව, ඥානය ගැන එහෙම ලොකුකමට ප්‍රසිද්ධියේ කතා කරන ස්වභාවයක් උන්වහන්සේ ළඟ තිබුනෙම නෑ. නොකියම බැරි අවස්ථාවක් වුනොත් අර විදිහට තැනට සුදුසු විදිහට අනතිමානීව උත්තර දුන්නා. ඒ තමයි ඇත්තටම නිවිච්ච උත්තමයන්ගේ ස්වභාවය.

-----------------------------

උන්වහන්සේ ගිහි වතක ඉන්න කාලයේ පටන් ළඟින් ඇසුරු කළ තවත් ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක් ඒ සම්බන්ධයෙන් ලබපු අත්දැකීමක් මේ විදිහට හෙළිදරව් කළා.

වහරක හාමුදුරුවො අබේරත්න උපාසක මහත්තය කාලෙ දවසක් හවස ආත්මභාවය, අත්බැව් ගැන දීර්ඝ ධර්ම සාකච්ඡාවක් කළා. ඒකට මමත් තවත් භික්ෂූන් වහන්සේලා කිහිප නමකුත් සම්බන්ධ වුනා. පටන් ගත්ත වෙලාවෙම ආගන්තුක මහත්තයෙකුත් ඇවිත් නිශ්ශබ්දව වාඩිවෙලා අහගෙන හිටියා. බැලු බැල්මට නිකං මානසික රෝහලක ඉඳල සනීප වෙලා එකපාරටම ආපු කෙනෙක් වගේ තමයි පිටින් බැලුවම පේන්න තිබුනෙ. හැන්දෑවෙ 6.00 ට විතර පටන් ගත්ත සාකච්ඡාව රෑ 12.00 විතර වෙනකල් ගිහිල්ලත් ඔහු මොකුත්ම කතා කළේ නෑ, නිකං අහගෙන හිටියා. කොහොම හරි රෑ 12.00 ට තේ බොන්න නැවැත්තුවම, එතැන හිටපු තවත් උපාසක මහත්තයෙක් අර මහත්තයව අබේරත්න උපාසක මහත්තයට පෙන්වල කිව්වා මේ අලුතින් ආපු මහත්තයෙක් කියල. හා ඒකට කමක් නෑ, මහත්තයට ප්‍රශ්න එහෙම මොනවද තියෙන්නෙ කියල අබේරත්න මහත්තයත් හිනා වෙලා ඇහුවා. ඔහු එකපාරටම මට මොකුත් ප්‍රශ්නයක් නෑ කිව්වා. ඔව් ඉතින් මහ ලොකු ප්‍රශ්න ගොඩක් මේකෙ නෑ කියල අබේරත්න මහත්තයත් ඒකම අනුමත කරල, නෑ මං මේ නිකං ඇහුවෙ සාම්ප්‍රදායික දහම පිළිබඳව හෝ වෙනත් මොනවහරි දහම් ගැටළු එහෙම තියෙනවද කියල දැනගන්නයි කියල ඇහුවා. මම සාම්ප්‍රදායික දේවල් ගැන දන්නෙත් නෑ, මෙතැන කරන කියන ඒවා ගැන දන්නෙත් නෑ කියල මේ මහත්තය එහෙම උත්තරයක් දුන්නා. එතකොට අබේරත්න උපාසක මහත්තයත්, ඔව් ඔව් මේකෙ ඉතින් මහ ලොකු ප්‍රශ්න ගොඩක් නෑ කියල හිනාවෙලා බුලත්විටක් හපන ගමන් අනිච්ච, දුක්ඛ, අනත්ත ගැන සාරාංශ කරල විනාඩි 12 ක විතර හරි ලස්සන විග්‍රහයක් කළා.

ඒක විස්තර කරල දීල අබේරත්න මහත්තය නැවතත් අර ආගන්තුක මහත්තයගෙන් අහනවා, දැන් මේ කරපු දහම් විග්‍රහය ගැන ඔය මහත්තයට ගැටළු එහෙම තියෙනවද කියල. ඔව් තියෙනවා කියල නිශ්ශබ්දව හිටිය මිසක් මොකුත් ඇහුවෙ නෑ. මොකක්ද තියෙන ප්‍රශ්නය කියල ඇහුවම, ඔය මහත්තය කොහොමද ඔහොම කියන්නෙ කියල එකපාරටම ප්‍රශ්නයක් ඇහුවා.

එතකොට අබේරත්න මහත්තය හිනා වෙවී මෙහෙම අහනවා. ඇස් පේන කෙනෙකුට දවල්ට උඩ බැලුවම ඉර පේනවා, රෑට උඩ බැලුවම හඳ පේනවා. දැන් හඳ පේන්න ඕන කියලවත්, ඉර පේන්න ඕන කියලවත් ඔහුට කවුරුවත් අමුතුවෙන් කියන්න ඕනද? දැන් අපි මෙච්චර වෙලා ආත්මභාවය ගැන කතා කළා. කලින් කරපු සාකච්ඡාවත් එක්ක බැලුවම මේ ආත්මභාවය පිළිබඳ තේරුම් ගැනීමක් වෙන්න ඇතිනෙ. එතකොට මලියදේව මහ රහතන් වහන්සේ අන්තිමට වැඩ හිටපු අවසන් රහතන් වහන්සේ කියලනේ සාම්ප්‍රදායිකව කියන්නෙ හදන්නෙ. උන්වහන්සේ වැඩ හිටියෙ කොයි කාලෙද? දැන් ඒ මලියදේව මහ රහතන් වහන්සේගෙන් බණ අහපු පිරිස් ජාත සෝතාපන්නයො විදිහට අද ඉන්න බැරිද? අබේරත්න මහත්තය මෙහෙම ප්‍රශ්නයක් අහල නැගිටල ගියා.

**ඒ වෙලාවෙ එතැන හිටපු අපි සියලු දෙනාම තේරුම් ගත්තෙ, අබේරත්න මහත්තය මලියදේව මහ රහතන් වහන්සේගෙන් බණ අහල සෝවාන් වෙලා සසරෙ ඇවිත් ජාත සෝතාපන්නයෙක් විදිහට මේ අත්බැවේ ඉපදිලා ඉන්නව කියන කාරණය. මහත්තය නොකිය කිව්වෙ ඒකයි කියන එක තමයි අපි තේරුම් ගත්තෙ. ඔය කතාවෙන් අපිට සංඥාවක් එනවා වහරක හාමුදුරුවො ජාත සෝතාපන්නයෙක් කියල.**

ඊට පස්සෙ අර මහත්තය ඒ සාකච්ඡාව ගැන පැහැදිලා ඒ වෙලාවෙම භාවනා කරන්න කියල අබේරත්න මහත්තයගෙන් කමටහනක් ඉල්ලුවා. ඒ කාලෙ වැඩිපුර දුන්න කමටහනක් තමයි අවංකයි, පිරිසිදුයි... කියන කමටහන. අබේරත්න මහත්තය ඒ පිළිබඳ

විග්‍රහයකුත් කරල අර මහත්තයට ඒ කමටහන දුන්නා. ඊළඟ සතියෙත් අපි යනකොට ඒ මහත්තය දෙවෙනි වතාවටත් ඇවිත් ධර්ම සාකච්ඡා කර කර ඉන්න ගමන් මේ විදිහෙ කතාවක් කිව්වා.

ඔය මහත්තය දීපු කමටහන වඩල මම භාවනා කළා. එතකොට මම දැක්කා මහ විසාල දිග කඳු වැටියක මහ විසාල ගලක්. ඒ ගල යට ගල් ගෙයක් තිබුනා. ඒ ගල් ගේ ඇතුලෙ ලස්සන සළුවක් එළල ඒක උඩ පාත්‍රයක් තියල ඒ පාත්‍රයේ... තියෙනවා දැක්කා. මේ අපි ඉන්න ප්‍රදේශයේ තියෙන ආං අහවල් කන්ද තමයි මං භාවනාවෙදි ඒ විදිහට දැක්කෙ...

මේ විස්තරය කියනකොටම අබේරත්න මහත්තය ක්‍ෂණිකවම අහක බලාගෙන තත්පර 10 - 15 ක් විතර ඉඳල හිනාවෙලා මෙහෙම කියනවා. එක් දහස් නවසිය අසූ ගණන්වල මම යම් යම් දේවල් පිළිබඳ පරීක්‍ෂණ කරන කාලයේ මට දහම් ප්‍රශ්නයක් විසඳගන්න ඕන වුනා. **මම දහම් ප්‍රශ්නය යොමු කරල බලනකොට අනුරාධපුර ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ ළඟ බෝධි සත්වයන් වහන්සේ බුදු වුනා කියල සමාධියෙන් දර්ශනය වුනා.** ඒ වුනාට මම දහම් ප්‍රශ්නය පිළිබඳ අවධානය යොමු කළා මිසක් ඒ පිළිබඳව එච්චර හොයන්න කියන්න ගියේ නෑ. හැබැයි ඊට පස්සෙ ඒ දහම් ප්‍රශ්නය විසඳනකොටම, ඒකට උත්තරය ගන්න හදනකොටම, ඔය මහ විසාල කඳු වැටියත් එක්ක මෙන්න මේ විදිහෙ හැඩරුව තියෙන මේ විදිහෙ මහ ගලක් දැක්කා. ඒ ගල යට මේ විදිහෙ පාත්‍රයක්... තියෙනව දැක්කා.

මේ විදිහට අර මහත්තය සමාධියෙන් දැක්ක දර්ශනයම වහරක අබේරත්න උපාසක මහත්තයත් ඒ වෙලාවෙ කිව්වා. ඊට පස්සෙ හිනාවෙලා කියනවා, බුදුන් වහන්සේගේ... ධාතූන් වහන්සේ තමයි ඔය තියෙන්නෙ, හරි වැඩේනෙ බලන්නකො මං අවුරුදු 20 කටත් පෙර පරීක්‍ෂණ කරපු කාලෙ මට සමාධියෙන් දර්ශනය වුනා, දැන් මේ දෙවෙනි වතාවට තමයි මේ ගැන දැනුවත් වුනේ කියල. ඔය කන්ද බොහොම සීමිත කාලයකදි එළිපෙහෙළි වෙලා සුද්ධ පවිත්‍ර වෙලා ආරාමයක් බවට පත්වෙනවා කියල, ඒ ගැන ලොකු විස්තරයක් කරල, දැන් ඒක කාටද අයිති, කොයි ප්‍රදේශයටද... ආදී විස්තර අර මහත්තයගෙන් ඇහුවා.



පැවිදි දිවියට ඇතුලත්ව

එතකොට ඒ මහත්තය ඒ ඉඩම ගැන විස්තරයක් කළා. ඒක පුද්ගලික ඉඩමක්. ඒකෙ අයිතිකරුවො ඒක විකුණන්න හදන්න යනවා. කවුරු ආවත් ඉන්න හදන්න බෑ. දවල්ටත් එක එක හොල්මන් වගෙ පේනවා. කෙහෙල් කැනක්වත් හොරෙන් කපන්න බෑ. ඒ තරම් බයයි. ඒ කවුරු ආවත් ඉඩම ගන්න හදල කතා කරල යනවා. ආපහු එන්නෙ නෑ. එතකොට අබේරත්න උපාසක මහත්තය මෙහෙම කිව්වා. **බුදුන් වහන්සේගේ... ධාතූන් වහන්සේ තියෙන නිසයි, විශේෂ ආරාමයක් තිබ්බ්ච ප්‍රදේශයක් නිසයි, සැරියුත් මුගලන් දෙනම වැඩ හිටපු කුටි දෙක නිසයි, බුදුන් වහන්සේ විවේකීව අප්‍රසිද්ධියේ වැඩ හිටපු ගල් ලෙනක් තියෙන නිසයි ඔය ස්ථානය රැකිල තියෙන්නෙ.** තව ගල් ගෙවල් එහෙම තියෙන ප්‍රදේශයක්. ඉදිරියේදි ආරාමයක් බවට පරිවර්තනය වෙනවා. **ප්‍රතිපත්ති පුරාගෙන ආර්ය මාර්ගයේ ගමන් කරන කෙනෙකුට හැර වෙන කෙනෙකුට මේ ස්ථානයේ ලේසියෙන් ඉන්න හදන්න බෑ. සුදුසු නෑ.**

මේ විදිහට අබේරත්න මහත්තය ලොකු විස්තරයක් කිව්වා. ඊට මාස කිහිපයකට පස්සෙ තමයි ඒ ස්ථානයට මුල් ගල එහෙම තියල ඒ ආරාමය ආරම්භ කරන්න පටන් ගත්තෙ.

ඒ වගේම දවසක් අපි ඔය දහම් සාකච්ඡා කර කර ඉන්නකොට අබේරත්න මහත්තය එක්තරා ආරාමයකට ගිහින් වෙච්ච විවිධ අපහසුතා ආදී කතා ගොඩක් කිව්වා. එතකොට මම කිව්වා, ඉතිං මහත්තයට ඔය ප්‍රශ්නවලට මුහුණ දෙන්න වෙන්නෙ නැනෙ මහණ වුනා නම් ඉවරයිනෙ කියල. ඊට පස්සෙ තමයි කිව්වෙ, ඔව් මහණ වුනා නම් ඔය ප්‍රශ්න එන්නෙ නෑ තමයි, ඒ වුනාට එහෙම මහණ වෙන්න බැරි හේතුවක් තියෙනවා කියල. ඒක මොකක්ද කියල ඇහුවට පස්සෙ තමයි, සසරෙ ආපු කර්ම වේගයක් නිසා මහණ වෙලා හිටපු එක අත්බැවක සිවුරු හැරල අර ස්ත්‍රියක් එක්ක පැනල යන්න සිද්ධ වෙච්ච කතාව කිව්වෙ. (මේ කතාව මීට පෙර හෙළ බොදු පියුම 48 කලාපයේ අභයරතනාලංකාරය යටතේ විස්තර කරල තියෙනවා.) මොකද එදා මහණ උපසම්පදාව අයින් කළෙත් ස්ත්‍රියක් නිසා. ඉතිං ස්ත්‍රියක් වෙනුවෙන් මහණකම ප්‍රතික්ෂේප කරපු නිසා ගිහි වතේ ඉඳගෙන අනාගාමී වෙනකල්ම මට මේ සිවුර දාගන්න අයිතියක් එන්නෙ නෑ කිව්වා. මමත් පොඩි කාලෙ පන්සල්වලට ගියා මහණ වෙන්න, නමුත් මට මහණ වෙන්න බැරි වුනා කියල ඒ ගැනත් ලොකු විස්තරයක් කිව්වා. මහණ වෙන්න අවශ්‍යතාවය තිබුනත් ඒ විපාකෙ නිසා මට මහණ වෙන්න බැරි වුනා, පසු කාලෙකදි තමයි මම ඒ බව දැනගත්තෙ, අනාගාමී වෙනකල් මට මහණ වෙන්න අයිතියක් එන්නෙ නෑ කිව්වා. ඉතිං ඒ කතාවෙනුත් කියවෙනවා, වහරක අබේරත්න උපාසක මහත්තය අනාගාමී වෙලයි මහණ වුනේ කියන කාරණය. දැන් මේ කතාව

කියන්නත් හේතු වෙච්ච තවත් කතාවක් තියෙනවා.

දවසක් ආරණ්‍යයක ඉන්න නායක හාමුදුරුවෝ නමක් අබේරත්න මහත්තය ගැන ආරංචි වෙලා දැනුවත් වුනාට පස්සෙ, නිතරම කවුරුහරි අතේ පණිවිඩ එවනවලු, මහත්තයා බණ කියනවා, දහම් සාකච්ඡා කරනවා කියල ආරංචියි, අපි ඉන්න ආරාමෙටත් මහත්තයට එන්න කියන්නකො කියල. ඉතින් නිතර නිතර කියන නිසා දවසක් පෝය දවසක, ආරාමය බලන්න යන්නත් බැරි වුනානෙ කියල අබේරත්න මහත්තය දිග කලිසමකුත් ඇඳගෙන අත්ඔරලෝසුවකුත් බැඳගෙන නිකං සාමාන්‍ය ගමනින් සාමාන්‍ය කෙනෙක් විදිහට ආරණ්‍යය බලන්න ගියා කිව්වා. ගියාම අර නායක හාමුදුරුවොත්, ආ... මහත්තය එන්න එන්න කියල කතා කළාලු. ඉතිං අද ආපු එක හොඳයි, මේ සිල් ගත්ත අයත් ඉන්නවා, දහම් සාකච්ඡා කරන්න පුළුවන් කිව්වම, අබේරත්න මහත්තය කල්පනා කළාලු, කොහොමද මම දහම් සාකච්ඡා කරන්නෙ, මම ඒකට සූදානම් වෙලා ආවා නෙවෙයිනෙ කියල. ඒත් දැන් මේ හාමුදුරුවන්ගෙන් බේරෙන්න බැරිලු, ඕං ඔය පැදුරක් දාගෙන වාඩිවෙන්න කියල කිව්වම, මහත්තයත් පැදුරක් දාගෙන හාමුදුරුවන්ට වැඳල වාඩි වුනාලු. දැන් ඉතින් දහම් සාකච්ඡා කරන්න කියල බේරෙන්න බැරිලු. අපිට ආරංචියි මහත්තය බොහොම දක්ෂ විදිහට දහම් සාකච්ඡා කරනවා, භාවනා වැඩසටහන් කරනවා, ඒ පිළිබඳ දැනුවත් කියල. ඒක බොහොම හොඳයි කිව්වම, එතැන හිටපු පිරිසත් එක්කෙනා දෙන්නා වාඩිවෙන්න ගත්තලු බණ අහන්න.

දැන් ඉතින් මහත්තයට දහම් සාකච්ඡා කරන්න විදිහක් නැතිලු, මොකද මහත්තය පැදුරක් දාගෙන බිම වාඩිවෙලා, ඒ මදිවට අර හාමුදුරුවරු ඔක්කොම ආසනවල ඉඳගෙන. එතකොට ධර්මාසනයක් නෑ. මොකද උඩ ඉන්න අයට බණ කියන්න බැනෙ. ඒක ගැලපෙන්නෙ නෑ. ඒ නිසා දහම් සාකච්ඡා කරන්න විදිහක් නෑ කියල බොහොම අපහසුතාවයට පත් වුනා කිව්වා. දැන් ඒත් හාමුදුරුවන්ගෙන් බේරෙන්න බැරිලු, කතා කර කර ඉන්න අතරෙත් දෙතුන් සැරයක්ම කිව්වලු දහම් සාකච්ඡාවක් කරන්න කියල. පස්සෙ අබේරත්න මහත්තය, ස්වාමීන් වහන්ස අපි ඉතින් සූදානම් වෙලා ආව නෙවෙයිනෙ, පස්සෙ දවසක දහම් සාකච්ඡා කරමු, මම මේ ඉතිං ආරණ්‍යය බලා හදාගෙන යන්න ආවෙ කිව්වම, කොහොම හරි හාමුදුරුවන්ටත් තේරුණාලු, අපි පුටුවල ඉඳගෙන මහත්තය බිම ඉන්න නිසා තමයි මේ ධර්ම සාකච්ඡා කරන්න අකමැති කියල. පස්සෙ හාමුදුරුවොම කිව්වලු, ආ... මහත්තය ධර්ම සාකච්ඡා කරන්නෙ කොහොමද අපි උඩ ඉන්න ගමන් මහත්තය බිමනෙ කියල. ඒ නිසා හාමුදුරුවරුත් පැදුරු දාගෙන බිම වාඩි වුනාලු.

ඉතින් එතැන හිටපු පිරිසත්, හාමුදුරුවන්ට පැදුරු දාල කොට්ට මෙට්ට දාල සුදු ඇතිරිලි දාල වෙනම විශේෂයෙන් ආසන හදල දුන්නලු. ඒත් අබේරත්න මහත්තය තවම හිටපු ආසනේමයි. එතකොටත් මහත්තයට ප්‍රශ්නයක් වුනාලු. මොකද දැන් කොට්ට පැදුරු දාල හාමුදුරුවන්ට, බණ අහන පිරිසට විශේෂ කරල, මහත්තය හිටියෙ පැදුරෙ. එතකොටත් ධර්ම දේශනා කරන්න බෑ. මොකද ධර්මාසනය විශේෂ නැති නිසා. දැන් ඉතින් කරන්නම දෙයක් නැතිලු. ඒ නිසා කිව්වලු, ස්වාමීන් වහන්ස මං මේ ධර්ම සාකච්ඡාවක් කරනව නෙවෙයි, මං පුංචි කතාවක් කියන්නම්කො, පෙර සිදුවීමක් මතක් කරන්නම් දැනුවත් වෙන්න කියල. එහෙම කියල ඇහුවලු, මේ ආරාමෙට වතුර නැති ප්‍රශ්නයක් තියෙනවද කියල. ඔව් ඔව් මහත්තය මේ ආරාමෙට වතුර නෑ කියල හාමුදුරුවොත් කිව්වලු. ඔය කුටියෙ ගල් ගේ ඇතුලෙ ගල් ළිඳක් වගේ එකක වතුර ටිකක් තියෙනවද ඇහුවලු. ඔව් කිව්වලු. මොකද මහත්තය මීට පෙර මේ ආරාමෙට ඇවිල්ලම නෑ. එතකොට ඒ ගල් ගේ ඇතුලෙම ළිඳක පොඩි වතුර ප්‍රශ්නයක් තියෙනව කියනවා. ඉතින් වතුර බොහොම දුර්ලභයි කිව්වම අබේරත්න මහත්තය සමාධියෙන් අතීත විස්තරයක් කිව්වලු.

මීට අවුරුදු 400 - 500 කට පෙරත් මේ ස්ථානයේ ආරාමයක් තිබිල තියෙනවා. ඒ කාලෙත් මේ ආරාමෙ දැන් වගේම වතුර ප්‍රශ්නයක් තිබිල තියෙනවා. ඉතින් මහත්තය ඇහුවලු, ඔබවහන්සේලා අතර දැන් මේ වතුරට ගැටුමක් තියෙනවද කියල. නෑ නෑ එහෙම දෙයක් නෑ කිව්වලු. නෑ ඉතින් රණ්ඩු සරුවල් එහෙම නෙවෙයි, පොඩි සිත් තැවුලක් සිත් අමනාපයක් හරි මේ වතුර සම්බන්ධයෙන් ඔබවහන්සේලා අතර නැත්ද කියල ඇහුවම, නෑ මහත්තය එහෙම ගැටළුවක් නෑ, අපිට වතුර නැති එක නම් ඇත්ත තමයි කිව්වලු. පස්සෙ අබේරත්න මහත්තය මේ අතරෙ අර අතීත කතාවත් හෙමිහිට කියාගෙන ගියා කිව්වා.

අවුරුදු 400 - 500 කට පෙර මේ ස්ථානය භික්ෂූන් වහන්සේලා වැඩ හිටපු ආරාමයක්, පිරිවෙනක්. ඔය පිරිවෙනේ ඒ කාලෙත් වතුර දුර්ලභ නිසා කන්ද පාමුල ඉඳල කදක් බැඳගෙනලු වතුර ගෙනාව කියන්නෙ. ඒ කාලෙ විහාරවත, බෝධිවත, චෛත්‍යවත... ආදී වශයෙන් භික්ෂූන්ට වත්පිළිවෙත් ටික බෙදල දීල තිබිච්ච නිසා, කෙටි කාලයක් ඇතුලත පන්සලේ වැඩ කටයුතු ඔක්කොම අවසන් වෙනවලු. ඉතින් එතැන හිටපු හාමුදුරුවරු දෙනමකටලු වතුර සැපයීම බාර දීල තිබුනෙ. මේ හාමුදුරුවන්ගෙන් එක නමක් උසයි, අනෙක් නම මිටියිලු. දැන් කත් ලීයෙ වතුර කලය බැඳගෙන දෙන්න කර තියාගෙන එනකොට අර මිටි හාමුදුරුවන්ගෙ පැත්ත පහතයි, අනෙක් හාමුදුරුවන්ගෙ පැත්ත උසයි. ඒ නිසා හැමදාම අර මිටි හාමුදුරුවන්ගෙ පැත්තට කලය රූටල යනවලු. දැන් අර මිටි හාමුදුරුවෝ කියනවලු, ඔබ වහන්සේ ඔය කත් ලීය පහත් කරගන්න මට සම්පූර්ණයෙන්ම බර එනව කියල. එතකොට උස හාමුදුරුවො කියනවලු, ඔබවහන්සේ එන්නෙත් කරේ තියාගෙන, මමත් ලීය කරේ තියාගෙන තමයි එන්නෙ, එහෙම බෑ අපි මේ විදිහටම යමු කියල. ඕකට දෙන්න අතර ඒ කාලෙ පොඩි අමනාපයක් තිබුනලු.

ඔය විදිහට එදා වතුර සපයපු හාමුදුරුවරු දෙනමගෙන් එදා හිටපු මිටි හාමුදුරුවෝ තමයි දැන් නායක ඔබවහන්සේ. උස හාමුදුරුවෝ තමයි ඔබවහන්සේගේ ගෝල හිමි නමක් ඉන්නවද මේ වගේ නාහෙ දිග, මේ විදිහෙ හැඩරුව තියෙන කියල කියනකොටම, තරුණ හාමුදුරුවෝ නමක් දුවගෙන ඇවිත් මෙහෙම කිව්වලු. අනේ මහත්තය අදත් ඔය ප්‍රශ්නය තියෙනව තමයි. ලොකු හාමුදුරුවෝ හැමදාම මට පහලට ගිහින් නාගෙන එන්න කියනවා. ඉතින් ලොකු හාමුදුරුවන්ට වගේම මටත් මෙතැනින් නාන්න අයිතියක් තියෙනවා. මුන්වහන්සේ ගුරු හාමුදුරුවෝ නිසා, වැඩිහිටි නිසා, ඒ සියලු හේතු නිසා, මුන්වහන්සේ නාල ඉවර වෙනකල් මමත් පැත්තකට වෙලා ඉඳල වතුර බේසමක් අරගෙන නානවා.

ඉතින් ලොකු හාමුදුරුවෝ කියනවලු, වතුර නැති නිසා පහලට ගිහින් නාගෙන එන්න

කියල. ලොකු හාමුදුරුවො බේසමකට අරගෙන නානකොට පොඩි හාමුදුරුවො මොකද කරන්නෙ, ලොකු හාමුදුරුවො කොයි වෙලේ හරි නාල ඉවර වෙනකල් ඉඳල ඒ විදිහටම බේසමකට වතුර අරගෙන නානවලු. දැන් ඔය ප්‍රශ්නය ලොකු හාමුදුරුවො නෑ කිව්වට අදටත් තියෙනවා, අනේ මහත්තය, එදා මගේ අතින් දන්නෙ නැතිව වෙච්ච වරදට මට සමාවෙන්න කියල, අර ලොකු හාමුදුරුවන්ගෙ කකුල් දෙක අල්ලල වැඳල සමාව ගත්තලු. මින් පස්සෙ මගේ වෛරයක් අමනාපයක් නෑ, ඔබවහන්සේ කැමති විදිහට නාගන්න, මම ආයෙ මෙහෙන් නාන්නෙ නෑ, පහලට ගිහින් නාගෙන එන්නම්, මීට පස්සෙ තරහ නෑ කිව්වලු. ඊට පස්සෙ ලොකු හාමුදුරුවොත් ඒ විදිහටම කියල, මගෙත් තරහක් අමනාපයක් නෑ, ඔබවහන්සේට ඕන දෙයක් කරන්න, කොහෙත් නැවත් මට කමක් නෑ, මං ආයෙ ඒ ගැන හොයන්නෙ බලන්නෙත් නෑ කිව්වලු.

දැන් මේ විදිහට අබේරත්න උපාසක මහත්තය පෙර අත්බැව් බලල අතීත සිද්ධිය විස්තර කරල දුන්නට පස්සෙ, මෙච්චර කාලයක් අමනාපයෙන් හිටපු ඒ හාමුදුරුවරු සමගි වෙලා ඒ ප්‍රශ්නය විසඳුනා කියනවා. ඉතින් දහම් සාකච්ඡා කරන්න බැරි නිසා තමයි මේ කතාව කියල තියෙන්නෙ. දැන් අර පෙර අත්බැව් කතාව කිව්වට පස්සෙ මේ හාමුදුරුවො දෙනමගෙන් බේරෙන්න බැරිලු, අනේ මහත්තයෝ අපිට භාවනා කමටහනක් දෙන්න කියල. දැන් අබේරත්න උපාසක මහත්තයට ඒක ඊටත් වඩා ප්‍රශ්නයක් වුනාලු, මම කොහොමද මේ වෙලාවෙ භාවනාවක් දෙන්නෙ කියල. ඒ නිසා ඒ වෙලාවෙත් මොකද කළේ, අතීතය සිහි කරල, දැන් ඔබ වහන්සේලා ඒ කාලෙ කරපු භාවනාවක් තියෙනවා, මම ඒක මතක් කරල දෙන්නම් කියල අතීතයේ කමටහන් වඩපු විදිහ විස්තර කරල දුන්නලු.

අද නම් හවසට මල් පූජා කළාට එදා මල් පූජා කරල තියන්නෙ උදේ වරුවෙලු. ඉතින් උදේට මල් ටිකක් කඩාගෙන ඇවිත් බුදු පිළිම වහන්සේ ළඟ තියල වැඳල යනවා. අද වගේ ගාථා කිය කියා ගොඩක් වෙලා වැඳ වැඳ ඉන්නෙ නැතිලු. ඊට පස්සෙ ගිහින් කර්මස්ථාන වඩාගෙන භාවනා කරනවා, පිණ්ඩපාතෙ යනවා, තමන්ගෙ වැඩ ටික කරගන්නවා. ඔහොම කටයුතු කරගෙන දවල් දානෙත් වළඳල 12.00 න් පසු හවස් වරුවෙ අර මල් අසුන ළඟට ගිහින් මල් වට්ටියට අත දාල මල් ටිකක් අරගෙන මිට මොළවල, ළඟ තැනකට ගිහින් වට්ටියේ තිබ්බ්ච පරණ මල් ටික විසි කරනවලු. දැන් අර අතට ගත්ත මල් ටික අතේ තියාගෙන ගහ යටින් වාඩිවෙලා මල් ටික දිහා බලනවලු. අතට ගත්තමත් අතේ තියෙන මල් ටික පොඩි වෙලා තියෙන්නෙ. ඉතින් මේ උදේ ගහෙන් මල කඩල ගත්තම කොහොමද තිබුනෙ? මෙහෙම ලස්සනට ප්‍රසන්නව මේ මේ විදිහට තිබුනා. දැන් මල මැලවිලා පොඩි වෙලා දිරාපත් වෙලා අභාවයට ගිහින්. මේ විදිහට සිහි කරල මලේ විපරිණාමය, වෙනස දකිනවලු. ඊට පස්සෙ හිතනවලු, මගේ මනුස්ස භාවයත් ඔය විදිහයි නේද, කොච්චර ලස්සනට හිටියත් මේ මල මැලවිලා යනව වගේ මගේ ජීවිතයත් මැලවිලා විනාස වෙලා යනව කියල. ඉතිං මට මේ අතේ තියෙන මලෙන් වැඩකුත් නෑ කියල එක මලක් අරගෙන විසි කරනවලු.

ඊට පස්සෙ තවත් මලක් ගන්නවලු. මේ යාමය කියන දිව්‍ය ලෝකය, ඉන්පසු තුසිත කියන දිව්‍ය ලෝකය... ඔය විදිහට දිව්‍ය ලෝකයෙන් දිව්‍ය ලෝකයට, බඹ තලයෙන් බඹ තලයට අර විදිහටම එකින් එකට සිහි කරනවලු. **මේ වගේ ලබපු දේවාත්මභාව, බඹ අත්බැව් කොච්චරද කියල කියන්න බෑ. ඉතින් මහේශාක්‍ය විදිහට ඉඳල මෙච්චර සැප සම්පත් විඳල මේ විදිහට කටයුතු කරපු ඒවා අනන්තයි, අප්‍රමාණයි. ඒවා අද එකක්වත් නෑ.** මේ අතේ තියෙන මලත් මැලවිලා විනාස වෙලා ගියා. එදා ගත කරපු දේවාත්මභාවත් වැනසිලා විනාස වෙලා ගියා විතරයි. එදා ඒ ගත කරපු දේවාත්මභාවවලින් දැන් මට වැඩක් ඇත්තෙත් නෑ, මගේ මේ අතේ තියෙන මලෙන් වැඩක් ඇත්තෙත් නෑ කියල ඒ මලත් විසි කරනවලු. ඔහොම විසි කරල අවසානයේ මේ තුන් ලෝකයේ කිසි දෙයක් මට වැඩක් නෑ කියල, ලෝකයේ අසාරත්වය දැකල අවසන් මලත් විසි කරල නැගිටල යන්න යනවලු. ඉතින් ඔය විදිහට විස්තර කරල, එදා ඒ කමටහන තමයි ඔබවහන්සේලා වඩල තියෙන්නෙ කියල ඒ කමටහන මතක් කරල දුන්නම, ඒ හාමුදුරුවරු එදා ඉඳන් ඒක වඩන්න පටන් ගත්තලු.

ඔය කතාව අබේරත්න උපාසක මහත්තය කිව්වට පස්සෙ තමයි මම කිව්වෙ, ඉතින් මහත්තය ඔය කිසි ප්‍රශ්නයක් නැනෙ, බණ කියන්නත් ලේසියි, කමටහන් දෙන්නත් ලේසියි, උන්වහන්සේලාටත් ගැටළුවක් නැනෙ මහත්තය මහණ වුනා නම් කියල. එතකොට අබේරත්න මහත්තය, නෑ ඒක එහෙම වුනාට මම පොඩි කාලෙත් මහණ වෙන්න ගියා ඒත් බැරි වුනා කියල අවස්ථා කිහිපයකදිම මහණ වෙන්න ගිහින් වෙච්ච සිද්ධි ටික කිව්වා. අන්තිමට ඒවාට මුහුණ දෙන්න බැරිව නැවත පන්සල්වලින් පැනල ගෙදර ආපු හැටිත් අබේරත්න මහත්තය හිනා වෙවී කිව්වා. ඒ සියල්ල මග හැරල ආවෙ අර විපාකය බලවත් නිසා කියල, ඊට පස්සෙ කියනවා, ඒ විපාකය දැනගත්තෙ පසු කාලෙකදි, එතකල් ඒක දැනගෙන හිටියෙ නෑ කියල. ඉතින් පොඩි කාලෙ මහණකම මග හැරුනෙ ඒ නිසයි කිව්වා. අනාගාමී වෙනකල් සිවුරු දාගන්න ලැබෙන්නෙ නෑ කිව්වා.

ඔන්න ඔය සිද්ධියත් අබේරත්න උපාසක මහත්තය මහණ වෙනකොට අනාගාමී වෙලා හිටිය බවට සාක්ෂියක්. ඉතින් ලෝකයා කෙරෙහි දයානුකම්පාවෙන් මේ වගේ දේවල් කියන්න තරම් උන්වහන්සේ අනතිමානී වුනා. අතීතය සිහි කරල මේ වගේ දේවල් කියන්න තරම් විශේෂ සමාධියක් උන්වහන්සේට ගිහි කාලෙත් තිබුනා. ඉතින් මේ සාසනයේ තියෙන බරපතලකමත් මේ වගේ සිද්ධිවලින් වටහාගෙන අද ඉන්න අයටත් ඒ අනුව කටයුතු කරන්න පුළුවන්.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# අට අනූවක් රෝග දුරලන, සමාධියට නැගී ආ බලගතු අරිෂ්ටයක්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගය ඇතුළු තවත් රෝග රැසකට ප්‍රත්‍යක්ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප හයෙන් (88, 89, 90, 91, 92, 93) විස්තරාත්මකව ඉදිරිපත් කළා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ වකුගඩු ආබාධ ඇතුළු අට අනූවක් (98) රෝගවලට උන්වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් තවත් බලගතු ප්‍රත්‍යක්ෂ දුර්ලභ ගණයේ අරිෂ්ටයක්.

ඒ වගේම විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, මේ අරිෂ්ටය හදාගෙන පාවිච්චි කරන්න පෙර රෝගවලට මුල් වූ කර්ම වේග යම් පමණකට හෝ ගෙවා හරින්න මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම පුළුවන් තරම් අනුගමනය කරන්න (විශේෂයෙන් 27,28,29,39,55,83,86 කලාප). එහෙම නැත්නම් ඒ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාම තමයි හට ගන්නෙ. ඒ විදිහට අනන්ත සසරෙ පටන් තෙරුවන් ඇතුළු ගුණ වඩපු උත්තමයින්ටත්, අන්‍ය සත්වයින්ටත් වෙච්ච අවැඩ අසාධාරණවලට විපාක විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බේත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

ඒ වගේම විශේෂයෙන් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ දැනටත් පසළොස්වක, අමාවක පොහොය දිනවල විශේෂ පුණ්‍යානුමෝදනාවත්, හැම මාසයකම 1 වෙනි සහ 3 වෙනි සෙනසුරාදා දිනවල විශේෂ ආශිර්වාද පූජාව සහ විශේෂ පුණ්‍යානුමෝදනාවත් සිද්ධ කෙරෙන නිසා, ඒවාට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස යම් පමණකට හෝ ගෙවාගෙන යහපත් ශක්තියක් ගොඩනගා ගන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෙත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න. ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන, හේතු ඵල දහම අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කළ යුතුයි. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බෙහෙතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

ඒ වගේම මේ අමුද්‍රව්‍ය සපය ගන්න හැම අවස්ථාවකදිමත්, ඒ බෙහෙත් හදන අවස්ථාවලදීත්, මේ සඟරාවෙන් මීට පෙරත් විවිධ අවස්ථාවලදි සඳහන් කරපු දැහැමි ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් ඖෂධවල ගැබ් වන ශක්තිය වැඩි වෙලා වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. පින්වතුන්ගේ පහසුව පිණිස මේ සඟරාවේ සඳහන් කරන ප්‍රබල බෙහෙත් වර්ග බොහොමයක් දැනටමත් නිෂ්පාදනය කරල, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.

දැන් මේ තියෙන්නෙ උන්වහන්සේට බෙහෙත් සමාධියෙන් කවියට නැගිච්ච දුර්ලභ ගණයේ ප්‍රබල බෙහෙත් වට්ටෝරුවක්, කිරණමය අරිෂ්ටයක්. **ඒ සඳහා මුල් වර්ග 108 ක් යොදා ගන්නවා. 108 කියන ඉලක්කමත් විශේෂයි. යමක් ජීවම් කරනකොටත් 108 වරක් ජීවම් කරන්න කියනවා. ලෝක සත්වයා වේදනාවෙන්, තණ්හාවෙන් බැඳෙන තැන් 108 ක් තියෙනව කියලත් දහමේ සඳහන් වෙනවා. ඒ වගේ යම් කිසි හේතු ඵල සම්බන්ධයකට අනුව තමයි මේ බෙහෙත ගෙතිල ඇවිත් තියෙන්නෙ.** ඒකට "අටෝ රාශි මූල අරිෂ්ටය" කියන නම උන්වහන්සේට සමාධියෙන්ම ගෙතිල ඇවිත් තියෙනවා. කාව්‍යමය භාෂාවෙන් තිබුනත් බේත්හේත් ගැන දැනුමක් අවබෝධයක් තියෙන අයට මේ කවිවලින් කියවෙන අමුද්‍රව්‍ය සහ ක්‍රමවේද ගලපගන්න බැරි කමක් නෑ. උන්වහන්සේට තිබිච්ච සුවිශේෂීය සමාධි කාව්‍යමය හැකියාවත්, බෙහෙත් සමාධියත් විදහාපාන තවත් අපූරු අවස්ථාවක් තමයි මේ.



## අටෝ රාශි මූල අරිෂ්ටය

පොල් මුල් පුවක් මුල් ලේන්තැරි රට පුවක් මුල්
බෙලි මුල් පළොල් මුල් කොහොඹ මුල් කිරි ඉද්ද මුල්
නා මුල් ඇසතු මුල් දෙළුම් සහ බෝවිටිය මුල්
කටුපිල කිතුල් මුල් පේර මුල් වතුසුද්ධ මුල්

වැල මුල් වරක මුල් කෝපි මුල් කැලෑ දෙල් මුල්
දෙහි මුල් දොඩං මුල් පඹුරු මුල් පැණි දොඩං මුල්
එළනික කුරුඳු මුල් වැලිද කටු අනවදා මුල්
තල් මුල්ද තල මුල් කොහිල මුල් තව ඇහැල මුල්

මී මුල්ද මානෙල් සමග සුදු රත් නෙළුම් මුල්
රතු පොල්ද බිම් පොල් තැඹිලි මුල් කුන්දිරා මුල්
සුවඳැල්ද ඇම්බුම් රත් කෙසෙල් ඇටි කෙසෙල් මුල්
අනමලුද නෙතුපල් බිං කෙසෙල් සුදු කොච්චි මුල්

හීන් නාරන් මුල් ඔඩි දෙහිද යන පැඟිරි මුල්
යකිනාරන්ද මුල් සුදු රතුද පිනි ජම්බු මුල්
කුඩලු දෙහිද මුල් මදටියද මී ඇටඹ මුල්
වලු ගිරා අඹ මුල් රට අඹද පෙට්ටි අඹ මුල්

ගස්ලබු නෙල්ලි මුල් සමග තව අරළු බුලු මුල්
ලාවුලුද දං මුල් කිරාතා කෝලිකුට්ටු මුල්
මාදම් වීන මුල් ඊ තණද බැල තණද මුල්
කහ රතුද රඹුටන් මුල් සමග ගඩුගුඩං මුල්

මොරද කළු පාට නික මුල් දැත්ත මුල් කරපිංච මුල්
බැබිලද කරඹ මුල් මිදෙල්ලද ඇත්දෙමට මුල්
මිදි මුල් කරඳ මුල් පාවට්ට කබරොස්ස මුල්
සුදු රත් හඳුන් මුල් රත් මල්ද රණවරා මුල්

බේත් සාරණ මුල් අශෝකා කෝපි කජු මුල්
නුග සැපතිල්ල මුල් එනසාල් සාදික්කා මුල්
ගල් අන්නාසි මුල් කොතල ඉගුරුද බුලත් මුල්
කොට කිඹුලාද මුල් එළ බටුද ගම්මිරිස් මුල්

එකසිය අටක් වන
හිර වුන රෝග දුරලන
ඖෂධ සෙත් කිරණ
සමග මෙම මුල් අවසරිනි ගෙන

මිහිකතුනි ඉතිනා
ඔබට පින් දෙමි බැතිනා
සුවෙන් නහවමිනා
දෙන්න මට ඔසු කියන් සිතිනා

මෙසේ මුල ගනිමින
මිහි කතට තුති පුදමින
දෙන්න ඔසු සදමින
කයෙන් හැර යයි සියලු ලෙඩ කුණ

දැන් මේ සියලු ඔසු මුල් සෝදාපන්න
මිනුමෙන් සියක් ගණනේ කිරලා ගන්න
කොටලා තලා පොඩි කර තෙත මතු වන්න
දෙසියක් පමණ ලීටර ජලයද දෙන්න

හතරක් කිලෝ අලියගෙ වසුරුද දමලා
හතරක් කිලෝ මී ගොම එලෙසම දමලා
ලිප අලු කිලෝ අටකුත් එලෙසම දමලා
අඩකුත් කිලෝ නෙල්ලික්කා විස හැරලා

මේ සැම සැලෙක ලා ලිප මත තබමින්න
අංශක අනූවට උණු කරලා ගන්න
පැය සිව් අඩක් යන තුරු උණු කරමින්න
නිවලා පෙරාගෙන සැලියක ලාපන්න

විස්කිද දෙබෝතලයක් එහි ලාපන්න
අරගෙන වයින් ඒ පමණම දාපන්න
සුදු කළ අරක්කුද බෝතල පහකින්න
දෙනු මැන සියලු ඔසු කලතා අරගන්න

රටඉඳි කිලෝ විසි දෙක අඩ ඇට හැරලා
වියලුන මිදිද ඒ පමණට අඹරවලා
සැම ඔසු එක්ව මිතු දහමින් ළං කරලා
දින විසි අටක් මිහිකත තුල ගෙන තබලා

පිරිසිදු රෙදි කඩක් ඇසුරින් පෙරා ගෙන
උදයේ දවල් රෑ හෝජන කරා යන
විටදී ඊට පෙර මේසද හැඳී දැන
වරකට තුනක් ගනු මැන ලෙඩ නැසේ දැන

මසකින් අඩක් කාලය ගත වන විටදී
ලෙඩකින් අඩක් දියවී පිටවෙයි මගදී
ඇට මස් ලේ නහර හිර කළ කුණු හැරදී
ඉවතට යවා සුව දෙයි පිරිසිදු කරදී

හිර කළ වකුගඩුව තුන් මාසයේ සිට
යළි පණ නැගෙයි කුණු හැර දෙයි රටාවට
මුළු හැම සිරුර හිර කළ කුණු ජරාවට
දෙවමින් පහර ඇදලයි මල මගේ සිට

යටි බඩ කොරය වන විට බිය නොම වන්න
රතු ලෙය ඇදේ යයි කිසි බිය නොම ගන්න
බැඳී ඇති කුණු සැරව ගෙඩි දිය කරමින්න
පිට කර දින හතෙන් සුව කර දෙති ඔන්න

කොඳු ඇට පෙළේ හිර කළ තෙත රසය මත
මෙම ඔසු රසය යන විට කැක්කුමද නැත
දින ගණනකින් පිරිසිදු කර සියලු වත
අට අනු රෝග දුරු කර දෙයි බොරුද නැත

මේ අරිෂ්ටයට මත් පැන් ගන්නකොට විස්කි, වයින්, සුදු අරක්කු වෙනුවට පොල් අරක්කු බෝතල් 10 ක් ගන්න පුළුවන්. ඒ වගේම ඉහත කියපු 108 මූලයන්ගෙන් සොයාගන්න අපහසු යමක් හෝ සමානව කියවුන යමක් හෝ තියෙනව නම් පහත සඳහන් මුල් වර්ග අටෙන් සුදුසු ප්‍රමාණයක් අරගෙන 108 ක් වෙන්න මුල් ගන්න පුළුවන්. උදාහරණ විදිහට මී මුල්, කෝපි මුල් කියන දෙක මේ වර්ග 108 ඇතුලෙ දෙවරක් බැගින් කියවෙනවා. එතකොට ඒ වර්ග හොයාගන්න පුළුවන් වුනොත් එක වර්ගයකින් ග්‍රෑම් 100 බැගින් ගන්න ඕන. මොකද එතැනදි එකම වර්ගය දෙපාරක් කියවුනා කියල අමුද්‍රව්‍ය ප්‍රමාණය දෙගුණ වෙන්නෙ නෑ. දැන් ඒ මොනව හරි මුල් වර්ගයක් හොයාගන්න නැත්නම් ඒ වෙනුවට පහත වර්ග 8 න් ඕනෑම වර්ගයකින් ඒ හා සමාන බරක් ගන්න පුළුවන්. යම් කිසි විදිහකින් මුල් වර්ග 8 කට වඩා වැඩි ගණනක් සොයාගන්න බැරිම වුනොත් විතරක් මේ ලැයිස්තුවේ කියවිලා නැති, විස නොවන, සාමාන්‍යයෙන් බෙහෙත් වර්ගවලට පාවිච්චි කරන වෙනත් මුල් වර්ග යොදා ගන්න පුළුවන්. උදාහරණ විදිහට ගඳපාන මුල්, සැවැන්දරා මුල්, ගොටුකොළ මුල්, පිටවක්ක මුල්, වම්බටු මුල්, තිබ්බටු මුල්, අත්තික්ක මුල්, පොඩිසිංඤ්ඤෝමරං මුල්... ඒ වගේම මේ කව්වලින් කෝපි මුල් සහ මී මුල් දෙවරක් කියවිලා තියෙන 

නිසා 108 ක් සම්පූර්ණ වෙන්න මේ අතිරේක ලැයිස්තුවෙනුත් තවත් වර්ග 2 ක් එකතු කළ යුතුයි.

1. සමන් පිච්ච මුල්
2. ගැටපිච්ච මුල්
3. බේත් එඬරු මුල්
4. වැට එඬරු මුල්
5. ඇත්තෝර මුල්
6. පැණි තෝර මුල්
7. ගොරක මුල්
8. උණ මුල්

දැන් මේ කවියෙන් කියපු කාරණා තවත් පහසුවෙන් තේරුම් ගන්න කරන කෙටි විග්‍රහයක් තමයි මේ.

මේ වට්ටෝරුවේ මුලින් තියෙන මුල් වර්ගය තමයි පොල් මුල්. **යමකට මුල් වෙච්ච ගතියට අදාළ ගුණ තමයි මුල්වල තැන්පත් වෙන්නෙ.** පංච කාමයේ ආදීනව විදිහට පහත් දේට ලොල් වෙලා ආභස්සර බඹ ලොවින් මේ මනුස්ස ලෝකයට එනකොට අපේ පෙර තිබ්ච්ච පහත් දේට ලොල් නොවීමේ ගුණය විශ්වයට විසිවෙලා ගිහින් ලෝකයේ ද්‍රව්‍ය පදාර්ථයක් වශයෙන් පහල වෙච්ච අවස්ථාව තමයි පොල් කියන්නෙ. පොල් මුලේ තියෙන්නෙ ඊට මුල් වෙච්ච කාරණයට අදාළ ඖෂධීය ගුණය. ඊළඟට තවත් කාලයක් යනකොට මනුස්සයො ගැහැණු පිරිමි වශයෙන් එකිනෙකා වෙළෙන්න ගත්තම රස පොළවත් එක්ක ලෝකයේ බඳාලතා බිහි වුනා. තවත් සෑහෙන කාලයක් ගිහින් සියලු දෙනාටම සමසේ තිබ්ච්ච ආහාර තවත් පිරිසක් පැහැරගෙන, පිරිසකට ඇති වෙලා තව පිරිසකට නැති වෙලා ඒ නැතිවෙච්ච පිරිසේ සාපයට ලක් වෙච්ච පිරිසක් විදිහට තමයි අද මේ මනුස්ස ලෝකයේ හැමෝටම දිවි ගෙවන්න වෙලා තියෙන්නෙ. ඒ සාපය නිසා අපේ තිබ්ච්ච ගුණ විශ්වයට ගිහින් එදා අපිට ස්වයංව තිබ්ච්ච සියලු ශක්තිය ඉන්පසු ලෝකයේ විවිධ ද්‍රව්‍ය වස්තු විදිහට නිෂ්පාදනය වුනා. මේ විදිහට දිගු කාලයක් පරිණාමය වෙනකොට මුලින්ම කිරණමය කය ඝනීභවනය වුනා. මේ විදිහට ඝනීභවනය වෙච්ච කයට, පෙර තිබ්ච්ච කිරණ කයේ වගේ සුද්ධ ශක්තියක් නෑ. මොකද පෙර තිබ්ච්ච සූර ගතිය ගිලිහිලා ගිහින් තමයි සූර්යා බිහි වුනේ. සෞම්‍ය ගතිය ගිලිහිලා ගිහින් හඳ / සඳ බිහි වුනා. ක්‍රමයෙන් සාපයට, හෙණයට හුරු වෙනකොට, මුලින් තිබුන සාපය, හෙණයට හුරු නොවෙච්ච ගතියෙන් සෙනසුරු බිහි වුනා. මේ විදිහට තවත් කල් යනකොට එන නරක ගති නිසා, පෙර තිබ්ච්ච සාපේක්ෂව නරක අඩු ගතිවලට අදාළ ගුණත් පිටවෙලා ගිහින් විවිධ ද්‍රව්‍ය, වස්තු බිහි වුනා.

මේ විදිහට මුලින් තිබ්ච්ච ශක්තිය අපෙන් අතුරුදන් වෙලා ගිහින් ගහකොළ, ඉරහඳ, තාරකා, ග්‍රහ මණ්ඩල... ආදිය ඇති වුනා. කළ දේ ඵල දෙන හේතුවට අනුව අද ඒ විපාකයන්ට මුහුණ දෙන්න ඝනීභවනය වෙච්ච මස් ලේ කයක් අපිට ලැබිල තියෙනවා. නමුත් අදටත් කිරණ කය මගින් තමයි අපේ මේ මස් ලේ කය පවත්වන්නෙ. කිරණ කය ලෙඩ වුනොත් මස් ලේ කයත් ලෙඩ වෙනවා. කිරණ කය නිරෝගී නම් මස් ලේ කයත් නිරෝගියි. එහෙනම් මේ කිරණ කය නිරෝගී කරන්න පුළුවන් නම් මස් ලේ කය ඉබේටම නිරෝගී වෙනවා.

කිරණ කයට හානි වෙන්නෙ කළු කිරණ මගින්. කළු කිරණ එන්නෙ ඇස්වහ, කටවහ, හෝවහ, අඬෝවැඩියා, හදි හූනියම්, ළපැලියා දෝස, අට අනූවක් රෝග, නව අනූවක් ව්‍යාධි, දෙසිය තුනක් අන්තරා, නවග්‍රහයින්ගෙන් එන්නා වූ දෝසාන්ධකාර, ආර්ය උපවාද, සාප කිරීම්... ආදියෙන් එන කර්ම විපාකයන්ගෙන්.

**මේ විදිහට අප විසින් එකතු කර ගත් සියලු විපාක, ඇස්වහ කටවහ... අණවින, කොඩිවින, හදි හූනියම්... ආකාරයෙනුත්, නියං, ඉඩෝර, ගංවතුර, නායයාම්, කුණාටු, භූමිකම්පා, සුනාමි, පිපිරීම්, ලෙඩ රෝග, වසංගත... ආදී විවිධ විපත් ආකාරයෙනුත් එන්න පුළුවන්.** සාසනික ප්‍රතිකර්ම මගින් මේ සියලු විපාකයන්ට වන්දි ගෙවල නිදහස් වෙන ක්‍රමවේදයත්, මතුවට එන්න තියෙන විපාක දුරු කරගෙන කායික මානසික නිදහස් භාවයෙන් යුතුව කටයුතු කරගන්න ආකාරයත් මීට පෙර සඟරාවල පළ කරල තියෙනවා.

එතකොට දැනට ජීවත් වෙලා ඉන්න ඕනෑම කෙනෙකුට වැළඳෙන්න පුළුවන් අට අනූවක් (98 ක්) රෝග සඳහා වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් මතු කර දුන් මේ අටෝ රාශි මූල අරිෂ්ටය සකස් කරගන්න කොට අනුගමනය කළ යුතු මූලික කාරණා කිහිපයක් මේ විදිහට සටහන් කරනවා.

පළමුවෙන්ම මේ ඖෂධය සකස් කරන්නෙ කුමක් උදෙසාද, එයින් තමන්ටත්, රෝගියාටත්, සමාජයටත්, රටටත්, පෙනෙන නොපෙනෙන සියලු ලෝක සියලු සත්වයන්ටත් අත්වන සෙත මොකක්ද කියල දැනගෙන චේතනා පිහිටවන්න ඕන. ඒ සඳහා පන්සලකට හෝ බෝධියකට හෝ වෙනත් සුදුසු පූජනීය සිද්ධස්ථානයකට ගිහින්, එහෙම නැත්නම් ගුණ මහත්වය වැඩි උත්තමයෙක් ළඟට ගිහින්, සුදුසු ගුණ උපහාරයක් (බෝධි පූජාවක් හෝ ආර්ය මෛත්‍රිය පැතිරවීමක් වගේ දෙයක්) පවත්වල, මම / මේ රෝගියා / රෝගීන් මෙන්න මෙහෙම සම්බුද්ධ සාසනයට, රටට, සමාජයට මේ තරම් සත් කටයුතු කරල තියෙනවා. එයින් අද විසාල පිරිසක් සුගතිගාමී මගක යෙදෙනවා. එහෙනම් මටත් යම් දවසක මේ වගේ රෝගයක් වැළඳුනොත් මේ වගේ සත් කටයුතු කරන්න බැරිව යනවා. මේ රෝගීනුත් එහෙමයි. ඒ නිසා මේ සත් කටයුතු මතුවටත් කරන්න නම් ඔහු / ඇය නිරෝගී විය යුතුයි. එයින් තවදුරටත් සම්බුද්ධ සාසනයට, සමාජයට, රටට, ලෝකයට සෙතක් වෙනවා. අන්න ඒ ගුණ මහත්වය වෙනුවෙන් අද මම මේ බෙහෙත් සකස් කරන්න අදිටන් කර ගන්නවා.

මේ ආකාරයෙන් ඒ රෝගීන් කෙරෙහි දයානුකම්පාවක් උපදවා ගත යුතුයි. ඒ අනුව මගෙනුත්, මේ රෝගීන්ගෙනුත්සම්බුද්ධසාසනයට,දිව්‍ය බ්‍රහ්ම මනුස්ස අමනුස්ස සතර වරිගයක ඥාතීන්ට, සියලු සත්වයින්ට අවැඩක් අසාධාරණයක්, හිංගියක් හිංසාවක් සිද්ධ වෙලා තියේ නම්, ඒ වැරදි වැරදි විදිහට පිළිඅරගෙන සම්බුද්ධ සාසනය ඉදිරියේ කමා කරගෙන, මෙතුවක් කල් රැස් කර ගත්ත සියලු පිං කුසල් ඒ සෑම සියලු දෙනාටත්, මේ ඖෂධය සඳහා අමුද්‍රව්‍ය යොදා ගන්නා ගස්වලට අධි ගෘහිත සියලු දෙවි දේවතාවන්ටත්, බහිරව ආදී සියලු කොට්ඨාසයන්ටත්, නවග්‍රහ දේවතාවන්ටත්, ඖෂධ බාරව කටයුතු කරන මංගර දෙවියන්ටත් විහිදුවා හැරල, ඒ අයගෙනුත්, පොළවට අධිපති මහී කාන්තාවගෙනුත් අවසර අරගෙන, මෙතෙක් කල් රැස් කළ ඒ සියලු පින් කුසල් සියලු දෙනාටම අනුමෝදන් කරන්න. මේ ගන්නා ඖෂධවල ශක්තිය ඒ විදිහටම රැක දෙන්න කියල ඉල්ලා සිටින්න, අධිෂ්ඨාන කරන්න.

**මේ විදිහට සකස් කරගත්ත ඖෂධයේ අග්‍ර කොටස බුද්ධ ප්‍රමුඛ අෂ්ටාර්ය පුද්ගල මහා සංඝ රත්නයට පූජා කරනවා කියල, අප විසින් මේ කරන සත් කටයුත්ත ඔබලාත් ඒ අයුරින්ම තම තමන් විසින් කර ගත් පිනක් කුසලයක් හා සමානව අනුමෝදන් වෙත්වා කියල ඒ සෑම සියලු දෙනාමත් මේ සත්**

**කටයුත්තට සම්බන්ධ කරගන්න, ඒ අයට ආරාධනා කරන්න.**

**අපි යම් කිසි තැනකින් යම් දෙයක් ගත්තොත් එතැන හිඩැසක් ඇතිවෙනවා. මේ මුල් වර්ග ගන්නකොටත් ඒ තැන්වල හිඩැසක් ඇතිවෙනවා. ඒ නිසා ඒ හිඩැස් මේ විදිහට සම්පූර්ණ කළ යුතුයි. ඒ සඳහා බෝධි පූජාවක් කරන්න පුළුවන්. බෝධි පූජාවෙදි පැන් කල 7 කින් බෝධිය නාවන්න. ඒ පැන්වලට ලඳපස්මල්, සුදු හඳුන් කුඩු දමන්න. බුදු පියාණන් වහන්සේ සම්මා සම්බෝධියට පැමිණෙනකොට ජය ශ්‍රී මහා බෝධිය ඒ සඳහා යම් සේවනයක් වුනාද, අද මා / අප විසින් මේ බෝධීන් වහන්සේට කරන ගුණ උපහාරයකින් මේ පැන් කල 7 මේ බෝධීන් වහන්සේගේ පැවැත්මට යම් උපනිශ්‍රයක් වන්නේද, මේ බෙහෙත් ඖෂධ ලබා ගන්නා සියලු ශාකයන්ට සහ ද්‍රව්‍ය වස්තූන්ට යම් හානියක් වුනා නම්, ඒ සිදු වුනා වූ සියලු හානීන් මේ ගුණ උපහාරයෙන් නැගෙන ශක්තියෙන් පූර්ණ වේවා කියල අදිටන් කරන්න.**

ඒ වගේම ලෝක සත්වයා කෙරෙහි මහත් දයානුකම්පාවෙන් මේ ඖෂධ ලෝකයට විද්‍යාමාන කර දුන් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේටත් නමස්කාර කරල, මේ සත් කටයුත්ත කිසිදු අඩුපාඩුවකින් තොරව කරගෙන යන්න අවශ්‍ය සියලු පසුතලය සකස් කර දෙන ලෙස සාසන ආශිර්වාදයත් රැකවරණයත් ලැබේවායි ප්‍රාර්ථනා කරන්න.

ඉන්පසු අඟහරුවාදා සහ සිකුරාදා දින හැර වෙනත් දිනයක රාහු කාලය මග හැරල මරු නැති දිසාවක් බලල පොල් ගහක් ළඟට ගිහින් (ඖෂධ බාර මංගර දෙවියන් ඇතුළු ඒ ගහට අරක් ගත් දෙවි දේවතාවන්ට) පළමුව වැඳ නමස්කාර කරල අවසර අරගෙන, මම අද මෙන්න මේ සත් කටයුත්ත සඳහා ඔබගෙන් මෙන්න මේ මුල් ටික ලබා ගන්නවා, මට ඊට අවසර දෙන්න, මේ රෝගාබාධවලින් අත්මිදෙන්නසකස්කරනබෙහෙත්සඳහා ඔබගෙන් පොල් මුල් මෙච්චර ප්‍රමාණයක් අවශ්‍යයි, සියලු ඖෂධ ශක්තිය සමග ඒවා මට ලබාදෙන්න (බෝධීන් වහන්සේට උපහාර පවත්වනකොට කළ අධිෂ්ඨානය නැවත කරන්න), ඒකෙ හිලව්වට මම කප්රුකක් හිටවනවා කියල පොල් මුල් ලබා ගන්න ඉඩමේ හෝ තමන්ට අයිති නැති වෙනත් කාගෙ හරි ඉඩමක හෝ පොදු ස්ථානයක හෝ පොල් පැළයක් හිටවන්න. ඒ කාරණය බෙහෙත හදන්න පෙර කරන්න පුළුවන් නම් වඩා හොඳයි.

මේ විදිහට හැම ඖෂධයක් සඳහාම ගන්නා ගහක මුලක් වෙනුවට පුළුවන් හැම අවස්ථාවකම ඒ බේතට අදාළ පැළයක් හිටවන්න උත්සාහ කරන්න. ඒ මගින් උසස් ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. නමුත් පොල් පැළයක් හිටවනවා කියන්නෙ, පණට පණක් දීම වගේ සුවිශේෂීය කාරණයක් නිසා ඒ වර්ග 108 වෙනුවෙන්ම පොල් පැළයක් හිටෙව්වත් ප්‍රමාණවත්. තමන්ට හැකියාවක් තියෙනව නම් පැළ වර්ග කිහිපයක් හිටවන්න. ඒ වගේම මුල් ගලවන හැම අවස්ථාවකදිම පොළවට අධිපති මහී කාන්තාවගෙන් අවසර ගන්න. මොකද ගහ දරාගෙන ඒකට අවශ්‍ය පෝෂණය සපයන්නෙ පොළව හරහා. ඉඩම තමන්ගෙ වුනත් වෙනත් කෙනෙක්ගෙ වුනත්, පෙර ඊට උරුමකම් කිව්වා වූ ඒ සැම දෙයක්ම වවා හදා සකස් කළ යම් කිසිවෙක් ඉන්නවද, ඒ සියලු දෙනාගෙන්ම පොදුවේ අවසර ගන්න. ඔවුන් කරගන්නා පිනක් කුසලයක් හා සමානව මේ සත් කටයුත්තට ඔවුන්ටත් අතහිත දී ගන්න පැමිණෙන්න කියල ආරාධනා කරන්න.

මේ විදිහට සියලු ඖෂධ එකතු කරගෙන හොඳින් කොටාගන්න. මේ සියලු මුල් වර්ග අමුවෙන් ගන්නව නම්, මේ සඳහන් කරල තියෙන ප්‍රමාණය (ග්‍රෑම් 100) තුන් ගුණයකින් වැඩි කරගත යුතුයි. මොකද මේ සඳහන් කරල තියෙන්නෙ වියළි මුල්වල ප්‍රමාණයන්. ඒ වගේම සමහර මුල් වර්ග අමුවෙනුත්, සමහර ඒවා වියළි ස්වභාවයෙනුත් මිශ්‍රව ගන්නත් පුළුවන්. හැබැයි එතකොට මේ කියන වියළි/අමු අනුපාතයට (1:3) ගන්න ඕන. ඒවගේමමේකිව්වලින්ග්‍රෑම්100ක්,කිලෝ 4ක්, බෝතල් 2ක්... ආදී වශයෙන් සඳහන් කරල තියෙන්නෙ විසාල පිරිසකට අවශ්‍ය ප්‍රමාණයක්. කෙනෙකුට අවශ්‍ය නම් ඒ ප්‍රමාණය අඩු වැඩි කරගන්න පුළුවන්. මින් ඉදිරියට සඳහන් වෙන්නෙ රෝගීන් කිහිප දෙනෙකුට අවශ්‍ය, අරිෂ්ට බෝතල් 25 කට පමණ අවශ්‍ය අමුද්‍රව්‍ය. ඒ කියන්නෙ කවියේ කියවෙන ප්‍රමාණයෙන් දහයෙන් එකකට අඩු කරල. මේ තමයි ඒ මුල් වර්ග.

පොල් මුල්, පුවක් මුල්, ලේන්තැරි මුල් (කුඩා රතු පාට පුවක් වර්ගයක්), රට පුවක් මුල්, බෙලි මුල්, පලොල් මුල්, කොහොඹ මුල්, කිරිඉද්ද මුල්, නා මුල්, ඇසතු (බෝ) මුල් (වැඳුම් පිදුම් නොකරන සහ ගොඩනැගිලිවල පැළ නොවෙච්ච ගස්. මොකද ඖෂධීය ශක්තිය සඳහා මුල් පොළවට සම්බන්ධ වෙලා තිබිය යුතුයි). දෙළුම් මුල්, බෝවිටියා මුල්, කටුපිල මුල්, කිතුල් මුල්, දෙමුහුම් නොකළ පේර මුල්, වතුසුද්ධ මුල්, වැල මුල්, වරකා මුල්, කෝපි මුල්, කැලෑ දෙල් මුල් (වල් දෙල්), දෙහි මුල්, ඇඹුල් දොඩම් මුල්, පඹුරු මුල්, පැණි දොඩං මුල්, එළනික මුල්, කුරුඳු මුල්, වැලි අනෝදා මුල්, කටු අනෝදා මුල්, තල් මුල්, තල මුල්, කොහිල මුල්, ඇහැල මුල්, මී මුල්, මානෙල් මුල්, සුදු නෙළුම් මුල්, රතු නෙළුම් මුල්, රතු පොල් මුල්, බිම්පොල් මුල්, තැඹිලි මුල්, කුන්දිරා මුල්, සුවඳැල් මුල්, ඇම්බුං මුල්, රත් කෙසෙල් මුල්, ඇටි කෙසෙල් මුල්, ආනමාලු මුල්, නේත්‍රපලං මුල්, බිම් කෙසෙල් මුල්, සුදු කොච්චි කෙසෙල් මුල්, හීන් නාරං මුල්, ඔඩිදෙහි මුල්, යකිනාරං මුල්, සුදු පිනි ජම්බු මුල්, රතු පිනි ජම්බු මුල්, කුඩලු දෙහි මුල්, මදටිය මුල්, ඇටඹ මුල්, වලු අඹ මුල්, ගිරා අඹ මුල්, රට අඹ මුල්, පෙට්ටි අඹ මුල්, ගස්ලබු මුල්, නෙල්ලි මුල්, අරළු මුල්, බුළු මුල්, ලාවුලු මුල්, දං මුල්, කිරාටා මුල්, කෝලිකුට්ටු මුල්, මාදං මුල්, චීන මුල්, ඊ තණ මුල්, බැල තණ මුල්, කහ රඹුටන් මුල්, රතු රඹුටන් මුල්, ගඩුගුඩං මුල්, මොර මුල්, කළු පාට නික මුල්, දැත්ත මුල්, කරපිංචා මුල්, බැබිල මුල්, කරඹ මුල්, මිදෙල්ල මුල්, ඇත්දෙමට මුල්, මීදි මුල්, කරඳ මුල්, පාවට්ටා මුල්, කබරැස්ස මුල්, සුදු හඳුන් මුල්, රත් හඳුන් මුල්, රත් මල් මුල්, රණවරා මුල්, බෙහෙත් සාරණ මුල්, අසෝක මුල්, කජු මුල්, නුග මුල්, සැපතිල්ල මුල්, එනසාල් මුල්, සාදික්කා මුල්, ගල් අන්නාසි මුල්, කොතල හිඹුටු මුල්, ඉඟුරු මුල්, බුලත් මුල්, කොටකිඹුලා මුල්, එළබටු මුල්, ගම්මිරිස් මුල්, (සොයා ගැනීමට අපහසු හෝ සමානව කියවුන මුල් වර්ග වෙනුවට - සමන්පිච්ච මුල්, ගැටපිච්ච මුල්, බේත් එඬරු මුල්, වැට එඬරු මුල්, ඇත්තෝර මුල්, පැණිතෝර මුල්, ගොරක මුල්, උණ මුල්.)

මේ සියලු බේත් වර්ගවල මුල් වියළි ඒවායින් නම් ග්‍රෑම් 10 බැගින්, අමු නම් ග්‍රෑම් 30 බැගින් ගන්න. මේ සියල්ල හොඳින් සෝදා ගෙන පිරිසිදු වතුර ලීටර 10 ක් දමා ඒ සියලු මුල් පැය 4 ක් පොඟවන්න. එතකොට ඒ වතුරෙන් කොටසක් මුල්වලට උරා ගන්නවා. ඊළඟට ඒ මුල් ටික ගල් වංගෙඩියක හොඳින් කොටාගන්න. දැන් වතුර ලීටර 10 ක් දමා මුල් පොඟවා ගත් පසු ඉතිරි වන වතුර ප්‍රමාණයටම, එකතුව ලීටර 20 ක් සම්පූර්ණ වන පරිදි තවත් වතුර එකතු කරන්න. දැන් ඊට කොටා ගත් මුල් සියල්ල එකතු කරන්න.

ඉන්පසු ඒ මිශ්‍රණයට අමු අලි බෙටි ග්‍රෑම් 400 ක්, අමු මී ගොම ග්‍රෑම්



# නිවන් ලැබ දෙන කමටහන්...

14 කොටස



දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මාර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් පෙළක් තමයි මේ සටහන් කරන්නෙ. උන්වහන්සේ විසින් සමාධියෙන් මතු නොකළත්, අනාදිමත් කාලයක් තිස්සේ පැවතෙන පෙළ දහම් ගාථා කොටස් කමටහන් විදිහට සඳහන් කරල තියෙන්නෙ, ඒවා අර්ථවත්ව වටහාගෙන වැඩීමෙන් මහත් ප්‍රතිඵල ලැබෙන බවට උන්වහන්සේ විසින් ප්‍රත්‍යක්‍ෂ අත්දැකීම් සහිතව ප්‍රකාශ කරල තියෙන නිසා.

---

400 ක්, ලිපේ අළු ග්‍රෑම් 800 ක් (පොල් ගහේ කොටස්වලින් එන අළු වැඩි විය යුතුයි.) නෙල්ලික්කා විස හැර ග්‍රෑම් 50 ක් එකතු කරන්න. (මී ගොම විතරක් බිමට වැටෙන්න පෙර ලබා ගත යුතුයි. අලි බෙටිවලට ඒ කාරණය අදාළ නෑ.)

දැන් මේ සියල්ල එකට එකතු කරල ප්‍රතික්‍රියා නොකරන හැළියක දමා පැය 2 ක් විතර සෙල්සියක් අංශක 90 ක පමණ උෂ්ණත්වයක පැය හතරහමාරක් පමණ තම්බගෙන බුබුළු දමන්නෙ නැති මට්ටමේදී බාගන්න (මේ සඳහා දර ලිපක් නැත්නම් වායු ළිපක් හෝ විදුලි ළිපක් පාවිච්චි කරන්නත් පුළුවන්). ඒ කියන්නෙ වතුර නටන උෂ්ණත්වයට වඩා අඩු උෂ්ණත්වයක. ඉන්පසු නිවෙන්න තියල පෙරාගෙන ලී හෝ මැටි කනක්කයට දාගන්න. දැන් විස්කි මි. ලී. 150 ක්, වයින් මි. ලී. 150 ක්, සුදු අරක්කු මි. ලී. 375 ක් (මේවා නැත්නම් පොල් අරක්කු මි. ලී. 750 ක්), ඇට ඉවත් කර ගත් රටඉඳි ග්‍රෑම් 2.25 ක්, වියළි මිදි ග්‍රෑම් 2.25 ක් එකතු කරන්න.

ඉන්පසු කනක්කයේ කට රෙදි පොටවල් 4 කින් විතර බැඳල අරිෂ්ටය පොළව යට දින 28 ක් පැහෙන්න තියන්න. මෙහිදී මැටි කූස්සියක්, මඩුවක් වගේ ආවරණයක් සහිත තෙමෙන්නෙ නැති, පිටින් වතුර ඇතුල් නොවන මැටි පොළවක වළලන්න ඕන. ඒ වගේම වැළලුවාට පසු කනක්කයේ කට මට්ටමේ සිට පොළව මතුපිට මට්ටමට අඟල් 5 ක් විතර පරතරයක් තිබිය යුතුයි. දින 28 කින් ගොඩ අරගෙන පිරිසිදු රෙදි කඩකින් පෙරාගන්න. උදේ, දවල්, රාත්‍රී කෑමට පෙර වැඩිහිටියෙක් නම් වරකට මේස හැඳි 3 බැගින් දවසකට 9 යි, අවු. 10 - 20 නම් මේස හැඳි 2 යි, කුඩා දරුවෙකුට නම් (අවු. 5 - 10) මේස හැඳි 1 ක් හෝ බාගයයි.

## මුත්‍රාශයේ ගල්, මුත්‍රා දැවිල්ල, මුත්‍රා ආසාදන සඳහා

ලොඳ නැති තැඹිලි ඇට්ටියක් (ලුණු ඇට්ටියක්) අරගෙන ඇස්ස කපල සුදු හඳුන් කුඩු මේස හැන්දක් සහ අක්කපාන කොළ 1 ක් කොළය පිටින්ම එකතු කරල, ඇස්ස වහල හැන්දෑවේ පින්නෙ තියල උදේට පෙරාගෙන හිස්බඩ පානය කරන්න. දින 14 ක් හෝ සුදුසු පරිදි ගන්න. අම්ල පිත්ත ප්‍රදාහය නිසා එන දැවිල්ල සඳහාත් මේ ඖෂධය සුදුසුයි.

## ඉන්නන්ට

1. කහ දමා විස ඉවත් නොකළ, බුලත්විට කන හුණු ටිකක් අරගෙන (හුණු රෝස පාටට හුරු නම් ඒවායේ විස ඉවත් කර ඇත.) ඉතා පිරිසිදු මී පැණි බිංදු 2 - 3 ක් දමා හොඳින් අනාගෙන ඉන්නා මත පමණක් උදේ හවස ගල්වන්න. මේ විදිහට දින 7 ක් විතර ගල්වනකොට ඉන්නා හැලිල යනවා.

2. අඟල් 6 ක පමණ අමු පොල් ඉරටුවක් අරගෙන ඒකෙ මුල පැත්ත (පොල් අත්තට සම්බන්ධ මහත පැත්ත) පොල්තෙල්වල ගිල්වල පත්තු කරන්න. පත්තු වෙන පැත්ත ඉන්නා මතට හරවල ඒ හරහා එන තෙල් බිංදුවක් ඉන්නා මතට වැටෙන්න සලස්වන්න. මේ විදිහට ඉරටු 14 ක් අරගෙන උදේ හවස දින 7 ක් කරන්න. ගල් තැලුම්වලටත් මේ ක්‍රමය සාර්ථකයි. එක අවස්ථාවක පාවිච්චියට ගත්ත ඉරටුවක් නැවත භාවිතා කරන්න බෑ. මොකද පොල් ඉරටුවේ අමු ඉස්ම ගතිය ඉවත් වෙන නිසා.

3. ඇත්තෝර ගහේ පස් පංගුව, දේශීය පේර ගහක පස් පංගුව සම ප්‍රමාණයෙන් අරගෙන ඊට සමාන බරක් සහිත පෙරුංකායම් ටිකක් ඊයම් කොළයක ඔතල විස මැරෙන්න ලිපේ අළු යට තියල අරගෙන ඒකත් එක්ක අර පස්පංගු 2 මිශ්‍ර කරල හොඳින් කොටාගන්න. ඉන්පසු ඒ මිශ්‍රණය ටිකක් රත් කරල, උදේ, දවල්, රෑ ඉන්නා මත දවස් 3 ක් පමණ ගල්වන්න.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

සමහර කමටහන් බැලු බැල්මට බොහෝ දුරට එක හා සමාන වගේ පෙනුනත්, සුළු සුළු වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ පින්වතුන්ට ගැලපෙන විදිහට අවස්ථානුකූලව සමාධියට නැඟිච්ච ආකාරය අනුව. ඒ වගේම යටින් ඉරි ඇඳි සමහර කමටහන් වාක්‍ය තුන් වතාවක් වඩන්න කියල පොදුවේ සඳහන් කරල තිබුනත්, අවස්ථානුකූලව තමන්ට පහසු විදිහට කැමති වාර ගණනක් වඩන්න පුළුවන්. අනෙක් කමටහන් වාක්‍යත් එහෙමයි. කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කමටහන් වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත්පත් කරගන්න පුළුවන්.

309.උත්තම පුරිස වූ
බුදු පියාණන් වහන්ස,
ඔබ වහන්සේට මම නමස්කාර
කරමි, මාගේ නමස්කාරය වේවා
පරම පුරිස වූ බුදු පියාණන් වහන්ස,
ඔබ වහන්සේට මම නමස්කාර
කරමි, මාගේ නමස්කාරය වේවා
සසර කතරින් එතෙර වුනා වූ
බුදු පියාණන් වහන්ස,
ඔබ වහන්සේට මම නමස්කාර
කරමි, මාගේ නමස්කාරය වේවා
සාධු! සාධු! සාධු!

සෝ භගවා ඉතිපි අරහං (ඒ භාග්‍යවතුන් වහන්සේ අරහං ගුණයෙන් යුක්තයි.)
අරහං වත සෝ භගවා
(ඒ භාග්‍යවතුන් වහන්සේ ඒකාන්තයෙන්ම අරහං ගුණයෙන් යුක්තයි.)
<u>නමෝ තස්ස භගවතෝ අරහතෝ</u>
<u>සම්මා සම්බුද්ධස්ස</u> ///
සෝ භගවා ඉතිපි සම්මා
සම්බුද්ධෝ
සම්මා සම්බුද්ධෝ වත සෝ භගවා
<u>නමෝ තස්ස භගවතෝ අරහතෝ</u>
<u>සම්මා සම්බුද්ධස්ස</u> ///
සෝ භගවා ඉතිපි විජ්ජාචරණ
සම්පන්නෝ
විජ්ජාචරණ සම්පන්නෝ වත සෝ
භගවා
<u>නමෝ තස්ස භගවතෝ අරහතෝ</u>
<u>සම්මා සම්බුද්ධස්ස</u> ///
සෝ භගවා ඉතිපි සුගතෝ
සුගතෝ වත සෝ භගවා
<u>නමෝ තස්ස භගවතෝ අරහතෝ</u>
<u>සම්මා සම්බුද්ධස්ස</u> ///
සෝ භගවා ඉතිපි ලෝකවිදූ
ලෝකවිදූ වත සෝ භගවා
<u>නමෝ තස්ස භගවතෝ අරහතෝ</u>
<u>සම්මා සම්බුද්ධස්ස</u> ///
සෝ භගවා ඉතිපි අනුත්තරෝ
පුරිසධම්ම සාරථී
අනුත්තරෝ පුරිසධම්ම සාරථී වත
සෝ භගවා
<u>නමෝ තස්ස භගවතෝ අරහතෝ</u>
<u>සම්මා සම්බුද්ධස්ස</u> ///
සෝ භගවා ඉතිපි සත්ථා දේව
මනුස්සානං
සත්ථා දේව මනුස්සානං වත සෝ
භගවා
<u>නමෝ තස්ස භගවතෝ අරහතෝ</u>
<u>සම්මා සම්බුද්ධස්ස</u> ///
සෝ භගවා ඉතිපි බුද්ධෝ
බුද්ධෝ වත සෝ භගවා
<u>නමෝ තස්ස භගවතෝ අරහතෝ</u>
<u>සම්මා සම්බුද්ධස්ස</u> ///
සෝ භගවා ඉතිපි භගවා
භගවා වත සෝ භගවා
<u>නමෝ තස්ස භගවතෝ අරහතෝ</u>
<u>සම්මා සම්බුද්ධස්ස</u> ///
සාධු! සාධු! සාධු!
(මෙය බුද්ධානුස්සතිය වැඩෙන කමටහනකි.)

310.මම පර පණ නොනසමි
හිංසාද නොකරමි
හොර මැර වංචා නොකරමි
සුරා සූදු දුරාචාර නොකරමි
<u>අවංකයි</u> ///
මම බොරු නොකියමි
කේළාම් නොකියමි
පරුස වචන නොකියමි
ප්‍රලාප නොකියමි
<u>පිරිසිදුයි</u> ///
මම ලෝභ නොවෙමි
තරහ නොවෙමි
<u>පවිත්‍රයි</u> ///
මම මිසදිටු නොවෙමි
<u>ප්‍රභාස්වරයි</u> ///
මම දස අකුසල් නොකරමි
<u>අවංකයි - පිරිසිදුයි - පවිත්‍රයි -</u>
<u>ප්‍රභාස්වරයි</u> ///

311.සම්මා සම්බුද්ධ සවණක් ගණ
බුද්ධ රශ්මි ආලෝකයෙන්
ආලෝක වෙත්වා

312.සම්මා සම්බුද්ධ සත්‍යානුභාව
බල මහිමයෙන්
සියලු පාප හිර බන්ධන
<u>නිරෝධ වෙත්වා</u> ///

313.ස්වයං ප්‍රභා නැගෙත්වා
ලොව සතට සෙත වේවා

314.මටද හැමටද
සම්මා තිසරණ සරණින්
සියලු වින බන්ධන
<u>නිරෝධ වෙත්වා</u> ///

315.සම්මා සම්බුද්ධ සවණක් ගණ
බුද්ධ රශ්මි මාලානුභාවයෙන්
හැමට නීච කුල බන්ධන
<u>නිරෝධ වෙත්වා</u> ///

(නීච කුල බන්ධන තියෙන අයට මෙය වඩන විට ගැලවී යයි. මෙම කමටහන වඩා ඉන්පසු පහත කමටහන වඩන්න.)

316.සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක
සියලු සත්වයෝ කෙරෙහි
සියලු මාර බන්ධන
සියලු වින බන්ධන
සියලු හිර බන්ධන
සුනු විසුනු වෙත්වා
සුනු විසුනු වෙත්වා
දැවී අලු දූලි වෙත්වා
දැවී අලු දූලි වෙත්වා
<u>නිබ්බාන පරම සුඛයෙන් සුඛිතතර</u>
<u>වෙත්වා</u> (වැඩි වාර ගණනක්)

317.සෝ භගවා ඉතිපි
සම්මා සම්බුද්ධෝ
සම්මා සම්බුද්ධෝ වත සෝ භගවා
නමෝ තස්ස භගවතෝ අරහතෝ
සම්මා සම්බුද්ධස්ස

බුද්ධ රතනානුභාවේන
ධම්ම රතනානුභාවේන
සංඝ රතනානුභාවේන

සබ්බ රෝග විනස්සතු
සබ්බ භය විනස්සතු
සබ්බ වින විනස්සතු
සබ්බන්තරාය විනස්සතු
වින බන්ධන විනස්සතු

318.මටද හැම දෙනාටද
රාග බන්ධන අසාරයි
රාග බන්ධන නිරෝධ වෙත්වා
ද්වේශ බන්ධන අසාරයි
ද්වේශ බන්ධන නිරෝධ වෙත්වා
මෝහ බන්ධන අසාරයි
මෝහ බන්ධන නිරෝධ වෙත්වා
මාර බන්ධන අසාරයි
මාර බන්ධන නිරෝධ වෙත්වා
සියලු බන්ධන අසාරයි
සියලු බන්ධන නිරෝධ වෙත්වා
නිබ්බාන සාරයි
<u>නිබ්බාන වෙත්වා</u> ///



319.මටද හැමටද
සම්මා තිසරණ සරණින්
සියලු විත දොස්
නිරෝධ වෙත්වා ///
මටද හැමටද නිවනම නාථයි
නිවනම වෙත්වා ///

320.මමද සියලු සත්වයෝ
උපාදානස්කන්ධ බන්ධනයෙන්
මිදෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

321.කාම තණ්හා නිරෝධයි
රූප තණ්හා නිරෝධයි
ශබ්ද තණ්හා නිරෝධයි
ගන්ධ තණ්හා නිරෝධයි
රස තණ්හා නිරෝධයි
පොට්ඨබ්බ තණ්හා නිරෝධයි
ධර්ම තණ්හා නිරෝධයි
(පැවිදි උතුමන්ට විශේෂයි)
මෙහි “නිරෝධයි” යන්නට
“නිරෝධ වෙත්වා” යනුවෙන්ද ගත
හැක.

322.සියලු ලෝක අනාථයි
අත්හැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි
සියලු සත්වයෝ
සතර අපායෙන් මිදෙත්වා
කාම ලෝකයෙන් මිදෙත්වා
රූප ලෝකයෙන් මිදෙත්වා
අරූප ලෝකයෙන් මිදෙත්වා

323.පංච මහා භූතයෝ
සුපිරිසිදු වෙත්වා සුපිරිසිදු වෙත්වා
ගත සිත ආලෝක වෙත්වා
ආලෝක වෙත්වා
පංච මහා සේඛ බලයෝ
පරිපූර්ණ වෙත්වා
පරිපූර්ණ වෙත්වා
(සද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා
යනු සේඛ බලයෝය.)

324.සියලු සත්ව පුද්ගල ද්‍රව්‍ය වස්තු
සියලු ලෝක කෙරෙහි පහල වන
ඇලීම් බැඳීම් ඇසුරු කිරීමට ආසාව
සහමුලින්ම අත්හැරීයාද
නොඇලීයාද - මිදීයාද
එකල්හි නිරෝධය ප්‍රත්‍යක්ෂ කර
පූර්ණය අරිහත්වයයි

325.විවේක නිස්සිත
විරාග නිස්සිත
නිරෝධ නිස්සිත
වොස්සග්ග පරිණාමී වූ
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිතතර වෙත්වා

326.සත්වයා පෙළීම් පිඬකි, බය පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි
ලෝකය පෙළීම් පිඬකි, බය පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි
මේ ශරීරය පෙළීම් පිඬකි,
බය පිඬකි, ජරා මරණ පිඬකි,
අසාරයි
මමද සියලු සත්වයෝ
අසාර වූ ලෝකයට බැඳෙන තණ්හා
උපාදාන බැම්වලින්
දස බිම්බරක් මාර බැම්වලින්
නිදහස් වෙත්වා ///
සාධු! සාධු! සාධු!

(දස මාර සේනාව යනු කාමය,
අරතිය හෙවත් ගුණ ධර්මවල
නොඇලෙන බව, බඩගින්න සහ
පිපාසාව, තෘෂ්ණාව, ථීනමිද්ධය,
බය, විචිකිච්ඡාව, ගුණමකු බව සහ
අවවාදයට නොනැමෙන බව, ලාභ
කීර්ති සත්කාර නොනිසි මගින්
ලත් යස ඉසුරු සහ ඒවායින් මතු
වන තෘෂ්ණා මානයෝ, තමා උසස්
කිරීම සහ අනුන් පහත් කිරීම... ආදී
වශයෙන් පෙන්වා ඇති කාරණා 10
යි. මහ පොළව මෙන් බරක් ඇති
දස මාර සේනාව යනු කෙළෙස්
සේනාවයි. එය උපමාවකි.) - සූත්‍ර
නිපාතයේ පදාන සූත්‍රය

327.මටද සැමටද නිබ්බාන වෙත්වා ///

328.මම යැයි ගැනීමට
මගේ යැයි ගැනීමට
මගේ ආත්මය යැයි ගැනීමට
ලොව සාරත්වයක් නැත්තේමය
සියලු සත්වයෝ
සියලු ලෝක බන්ධනයෙන්
නිදහස් වෙත්වා

329.කාය උපාදානයෝ අසාරයි ///
සියලු සත්වයෝ
කාය උපාදානයෙන්
නිදහස් වෙත්වා

330.හැම දෙනාටම
කාය තණ්හා උපාදානයෝ
අසාරයි ///
හැම දෙනාටම
කාය තණ්හා උපාදානයෝ
නිරෝධ වෙත්වා ///

331.මටද හැම දෙනාටද
සියලු කායයන්හි
තණ්හා උපාදානයෝ අසාරයි ///
මටද හැම දෙනාටද
සියලු කායයන්හි
තණ්හා උපාදානයෝ
නිරෝධ වෙත්වා ///

332.හැමට සියලු කාය ආස්වාදයෝ
අසාරයි ///
හැමට සියලු කාය හිර බන්ධනයෝ
නිරෝධ වෙත්වා ///

333.මම යැයි දෙයක් මගේ යැයි දෙයක්
මගේ ආත්ම යැයි දෙයක්
රූපයෙහි නැත්තේමය
මම යැයි දෙයක් මගේ යැයි දෙයක්
මගේ ආත්ම යැයි දෙයක්
වේදනාවෙහි නැත්තේමය
මම යැයි දෙයක් මගේ යැයි දෙයක්
මගේ ආත්ම යැයි දෙයක්
සංඥාවෙහි නැත්තේමය
මම යැයි දෙයක් මගේ යැයි දෙයක්
මගේ ආත්ම යැයි දෙයක්
සංඛාරයෙහි නැත්තේමය
මම යැයි දෙයක් මගේ යැයි දෙයක්
මගේ ආත්ම යැයි දෙයක්
විඤ්ඤාණයෙහි නැත්තේමය
මම යැයි දෙයක් මගේ යැයි දෙයක්
මගේ ආත්ම යැයි දෙයක්
මෙයින් පිටතද නැත්තේමය

(මෙහි “නැත්තේමය” යනුවෙන්
වඩන විට, ඇත - නැත යන අන්ත
දෙකට නොවැටී, සාර ලෙස
ගන්න හරවත් දෙයක් නෑ කියන
අර්ථයෙන් අදහස ගත යුතුයි.)

334.මමද සියලු ලෝක සියලු සත්වයෝ
රාගක්ඛයෝ වෙත්වා
ද්වේශක්ඛයෝ වෙත්වා
මෝහක්ඛයෝ වෙත්වා

335.සම්මා සම්බුදු සරණයි
මමද සියලු සත්වයෝ
දුක්ඛ දුක්ඛයෙන් මිදෙත්වා
සංඛාර දුක්ඛයෙන් මිදෙත්වා
විපරිනාම දුක්ඛයෙන් මිදෙත්වා
රාග බැම්මෙන් නිදහස් වෙත්වා
ද්වේශ බැම්මෙන් නිදහස් වෙත්වා
මෝහ බැම්මෙන් නිදහස් වෙත්වා
මාර බැම්මෙන් නිදහස් වෙත්වා
නිබ්බාන පරම සුඛයෙන් සුඛිතතර
වෙත්වා

336.මමද සියලු සත්වයෝ
සතර අපායෙන් නිදහස් වෙත්වා
කාම ලෝකයෙන් නිදහස් වෙත්වා
රූප ලෝකයෙන් නිදහස් වෙත්වා
අරූප ලෝකයෙන් නිදහස් වෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# බහිරව පූජාවක දහම් පැතිකඩ - 2

බහිරවයන් විදිහට උප්පත්තිය ලබන ආකාර 2 ක් ගැන පසුගිය කලාපයෙන් මූලික වශයෙන් කරුණු ඉදිරිපත් කළා. ඒ තමයි සංඛාර තුලින් බහිරව ජාතිය ගොඩ නගන පිරිස සහ බලෙන් බහිරව බවට පත් කළ පිරිස. ඒ විදිහට බිහි වන විවිධ බහිරව කොටස් පිළිබඳ ස්වභාවය තමයි මේ ලිපියෙන් ඉදිරිපත් කරන්නෙ.

මේ සියලු කොට්ඨාස ඉහත ආකාර දෙකෙන් මොන ක්‍රමයකට බහිරව බවට පත් වුනත්, ඔවුන්ට තියෙන බල පරාක්‍රමයන් සහ ඔවුන් කරන කියන දේවල් අනුව සියලු බහිරවයන් කොටස් අටකට බෙදෙනවා. ඒ ඒ කොටස් අනුව ඔවුන් කරන කියන කටයුතු සහ අරක් ගන්නා ස්ථානත් වෙනස් වෙනවා.

මේ සියලු බහිරවයන්ට පාලකයෙක් ඉන්නවා. රජෙක් විසින් රටක් පාලනය කරනවා වගේ සියලු බහිරවයන්ට අධිපතිකම් දරන බහිරව දේවතාවන් විසින් ඔවුන්ව පාලනය කරනවා. මේ බහිරව දේවතාවන් තමයි චාතුර් මහා රාජික දෙව් ලොව හා සම්බන්ධව ජීවත් වෙන සුර දේවතාවන්. ඒ අයගේ ගතිය තමයි සුර. ඒ දේවතාවන්ට තවත් සහපිරිවරක් ඉන්නවා. ඔවුන් පුර පසළොස්වක පොහොයට දින 7 කට පෙරත්, දින 7 කට පසුත් දේවතාවන් වශයෙනුත්, අමාවක පොහොයට දින 7 කට පෙරත්, දින 7 කට පසුත් යක්ෂයින් හෙවත් අසුරයන් වශයෙනුත් වාසය කරනවා. ඒ කියන්නෙ ඒ ඒ අවස්ථාවන්ට ගැලපෙන විදිහට ගතිය වෙනස් කර ගන්නවා. මේ කියන බහිරව දේවතාවන්ට ඉතිරි සියලු බහිරව කොටස් යටත්. ඔවුන් මේ බහිරව ලෝකය පාලනය කරනවා. ඒ අය මහ පොළවට ඉහලින් අරක්ගෙන ඉන්නවා. මේ විදිහට දේවතාවන් වශයෙන් වාසය කරන කාලයේදී බහිරව කන්ද, අභයගිරිය හරහා පොළවට සම්බන්ධ වෙලා මෙහේ ඉන්න අනෙක් බහිරවයන් සමග සහසම්බන්ධ වෙලා ඔවුන්ට තියෙන ගැටළු විසඳගන්න කටයුතු කරනවා. එතැනදි සියලු බහිරවයන්ට ඔවුන්ව මුණගැහෙන්න බෑ. ඔවුන් සමග සම්බන්ධ වෙන්න නම් ඒ හා සමාන ශක්තියක් තියෙන, ඒ කියන්නෙ බල වරම් තියෙන අයට විතරයි පුළුවන්.

මේ බහිරව දේවතාවන් අරක් ගන්නෙ, පෙරදා ඔවුන් මනුස්සයින් වශයෙන් ඉන්නකොට සම්බන්ධ වෙච්ච තැන්වලට. ඒ කියන්නෙ, ඔවුන් අදහපු ආගම දහම මුල් කරගෙන ඒ අනුසාරයෙන් පුද පූජාවන්ට ලක්වන ස්ථානයක්, එහෙම නැත්නම් තමන්ගෙ සේසත ධනය විය පැහැදම් කරල අන්‍ය ලෝක සත්වයින් උදෙසා ගොඩනගපු වෙහෙර විහාරයක්, දේවාලයක්, වැවක්, එහෙමත් නැත්නම් තමන්ට පරම්පරාවෙන් ලැබුන හෝ ප්‍රාදේශීය පාලකයෙක් වශයෙන් ගත කරනකොට නින්දගම් බවට පත් කළ ප්‍රදේශයක්, එහෙමත් නැත්නම් බෞද්ධ නොවන අන්‍ය ආගමක් ඇදහුව නම් ඒ ආගම මුල් කරගෙන තමන් විසින් ගොඩ නගපු සිද්ධස්ථානයක්, ඒ වගේම ඒවා නඩත්තු කරන්න ගොඩ නගපු යම් යම් දේවල් තියෙනවද ඒ දේවල්වලට අධිගෘහිතව තමයි දැන් කටයුතු කරන්නෙ.

උදාහරණයක් විදිහට සමහර පෞරාණික මහා විහාරස්ථානවලට නින්දගම් තියෙනවා. ඒ නින්දගම්වලින් ලැබෙන ආදායමෙන් කොටසක් අනිවාර්යෙන්ම ඒ විහාරස්ථානවලට ලබා දිය යුතුයි. ඒක රජ කාලයේ පටන් පැවතෙන නියමයක්. අද ඒවා ඒ විදිහට ක්‍රියාත්මක නොවුනත් පෙරදා මේවා ගොඩ නගන ලද්දා වූ, ඊට චේතනා පහල කළා වූ, ඒ තුලින් ඒවා නඩත්තු කරල පවත්වාගෙන යන්න කටයුතු කළා වූ පිරිස් ඉන්නවා. විහාරස්ථානයට උතුරෙන් අක්කර මෙපමණක් හෝ වෙනත් මායිමක් තියෙන කඳු වැටියක්, ගංගාවක්, ඔයක් මුල් කරගෙන ඒකට සීමාවන් ලකුණු කරල, ඒ තුල ඉන්න සියල්ලන්ගෙන්ම අවුරුද්දකට මෙච්චර රන් කහවනු ප්‍රමාණයක්, වී බෙර මෙච්චර ප්‍රමාණයක්, අමු මෙනේරි, තල මෙච්චර ප්‍රමාණයක් විහාරස්ථානයට ලැබිය යුතුයි කියල නියම කරල ඒවා රත්රන් හෝ තඹ පත්ඉරුවල ලියල තැන්පත් කරල තියනවා. දකුණ, නැගෙනහිර, බටහිර... ආදී සියලු ප්‍රදේශයන්ටත් මේ විදිහට ලියල සඳහන් කරල තියනවා. මේ විදිහට ලියල විහාරස්ථානයත් ඉදි කරල ඒ සියලු ප්‍රදේශ පාලනය කරපු මැති ඇමති, පුරෝහිත, සිටුවරු,

යුව රජවරුන්ගෙ පාලනයට නතු ප්‍රදේශයන්, සතර මහා දේවාලවලට අයිති ප්‍රදේශයන්, විෂ්ණු, නාථ, දැඩිමුණ්ඩ, සුමන සමන්, කතරගම, විභීෂණ, අයියනායක... ආදී දෙවි දේවතාවන් වැඩ ඉන්න දේවාලවලට අයිති නින්දගම් සහ ප්‍රධාන පිරිවෙන්, පන්සල්... ආදිය සියල්ල සඳහන් කරල විහාරස්ථානය ගොඩනංවල විවෘත කරපු වෙලාවෙ ලෝකයා ඉදිරියේ ප්‍රකාශ කරල බල පිහිටුවල ආඥාවන් පනවල තියෙනවා. ඒ ආඥාව බුද්ධ සාසනය පවතින තාක් කල් බල පිහිටුවල තියෙනවා. මේ අවස්ථාවෙදි මේ ප්‍රදේශවලට අධිපති ප්‍රාදේශීය පාලකයන්, ගම්මුලාදෑනිවරුන්, සිටුවරු, මැති ඇමතිවරු, දේවාල භාරකරුවන්, ප්‍රධාන පන්සල්වල, පිරිවෙන්වල නායක මහා නායක, අනුනායක හිමිවරුන් සහ මේ අවස්ථාවට සම්බන්ධ වෙච්ච සියලු ජනතාවත් සාක්ෂි කොට සඟ සතුව බුද්ධ සාසනයට පවරල පූජා කරල තියෙනවා.

මේ කිව්වෙ පිටින් පෙනෙන පැතිකඩක් විතරයි. නොපෙනෙන පැතිකඩ නම්, මහ දේව මණ්ඩලයේ පටන් සතර අපාය තෙක් සියලු සත්වයන් සාක්ෂි කොට පූජා කරල ආඥා පනවනවා. ඒ අවස්ථාවෙදි ඉහත නම් කියපු පාලකයන්, නිලමෙවරු, සිටුවරු, මැති ඇමති, මහාමාත්‍යාදීන් වේවා, පෙනෙන නොපෙනෙන සියලු අත්බැව්වල ඉන්න දෙවි දේවතාවුන්, තලාටු භූමාටු, සුර අසුර යම් කිසිවෙක් වේවා, මම දිවි හිමියෙන් බුද්ධ සාසනයේ නාමයෙන් මට අයිති ප්‍රදේශය හෝ මගේ කුඹුර හෝ හේන හෝ මම ඉන්න පන්සල, දේවාලය, කෝවිල... හෝ වේවා, මේවාට ලැබෙන ආදායමෙන් මෙපමණ මුදලක් හෝ ධන ධාන්‍ය හෝ ශ්‍රම දායකත්වයෙන් හෝ මේ විදිහට ගෙවනවා කියල යම් චේතනාවක් පිහිටෙව්වද, ඒ සියල්ල පෙර දුන් ආඥාවත් සමග ක්‍රියාත්මක වෙන්න පටන් ගන්නවා.

ඔහොම යනකොට, මගේ කුඹුර බලාගන්න එකා මේ සැරේ කන්නයෙන් පන්සලට වී බෙර 2 ක් යැව්වෙ නෑ, අහවලා කුරහං දුන්නෙ නෑ, මට නොකියා අහවල් ගමේ අහවල් ගහ කැපුවා, මට ඒකට දඬුවම් දෙන්න බැරි වුනා, අහවල් ගමේ උන් වැව හරියට නඩත්තු කළේ නෑ, වැවට ගෙවන දියවර බදු ගෙව්වෙ නෑ, මම අහවලාට පවරපු ඇල කැපුවෙ නෑ, මේ පාර පන්සලේ පෙරහැර මංගල්‍යයට මගෙන් අඩුපාඩු සිද්ධ වෙන්න පුළුවන්, මම මොකද කරන්නෙ කියන මේ වගේ සිතිවිලිවලින් යම් ප්‍රාදේශීය පාලකයෙක් හෝ ඒ සම්බන්ධව කටයුතු කරපු කෙනෙක් මියගියොත් මොකද වෙන්නෙ?

ගන්ධබ්බ ලෝකයට ගිය සැණින්, සාසනය උදෙසා කරන්න බැරි වෙච්ච දේවල් කරන්න ඔහුට වහාම අවස්ථාව ලැබෙනවා. මතක වස්ත්‍ර පූජා කරල පැන් වඩල පිං පමුණුවන අවස්ථාවෙදි ගුණකථනයක් කරනකොට ඔහු තුල අර සියලු යහපත් දේවල් හෙවත් ඒ පූජනීය ස්ථානය වෙනුවෙන් කරන්න බලාපොරොත්තු වෙච්ච දේවල් මතක් වෙනවා. වැව බාගෙටයි හදල ඉවර කරන්න පුළුවන් වුනේ, හිටිය නම් ඒකත් ඉවර කරනවා, ඇල බාගෙටයි කපන්න පුළුවන් වුනේ, හිටිය නම් ඉතිරි ටික කරනවා... ආදී වශයෙන් කියනකොට, තමන් කරපු පින් කුසල් අනුව ඒ අවස්ථාවෙදි ශරීරයට දැනෙන ශක්තියත් සමග, මට පුළුවන් ඒ අය ලවා මේ ටික කරවන්න කියන සිතිවිල්ල පහල වුනොත් ඊට අනුරූප ශක්තියත් සමග උපතකට ඇදෙනවා. ඒක දේව උප්පත්තියක් වුනත් තමන් විසින් අහවර නොකළ වැඩ කටයුතු අහවර කරන්න තියෙන බැඳියාව තුලින් බහිරව දේවතාවන් බවට පත්වෙනවා. හොඳ දෙයක් කරන්න තියෙන චේතනාව නිසා දේව උපතකට සම්බන්ධ වෙනවා.

ඔවුන්ට ඒ කටයුතු ඉටු කරන්න බැඳිල ඉන්න පිරිස ඉෂ්ට බහිරවයන් වශයෙන් හඳුන්වනවා. ඔවුන් මහ පොළව මත සහ පොළව අභ්‍යන්තරයෙත් ඕනෑම තැනක ඉන්න පුළුවන්. බොහෝ කොටම සූර්යාලෝකය මොවුන්ට අගුණයි. දැඩි සූර්යාලෝකය තියෙන අවස්ථාවල කොහොමටවත් දර්ශනය වෙන්නෙ නෑ. අද සියලු දෙනාම පාහේ පීඩා විඳින්නෙ බොහෝ කොටම මෙන්න මේ ඉෂ්ට බහිරවයන් සමග ඇති කරගත් නොහොඳ නෝක්කාඩු නිසා. මොවුන් මනුස්සයින්ගෙ හොඳ මිතුරන්. ක්‍රමවේදය දැනගෙන ඇසුරු කළොත් කිසිම ගැටළුවක් නෑ. අපි ගෙපලක් කපනකොට ගෙට ගෙවදින්න පෙර තියන බහිරව පූජාවන්, හදපු ගෙවල්වල කරන බහිරව පූජාවන්, ළිඳක්, ව්‍යාපාරික ස්ථානයක් හෝ තිබ්බිච්ච නිවසක් කඩල බිඳල නැවත ගොඩනගනකොට තියන බහිරව පූජාවන්... ආදිය බාරගන්නෙ මෙන්න මේ ඉෂ්ඨ බහිරවයන් නමින් හඳුන්වන පිරිස. නාග බහිරවයන්ට කරන පූජා වුනත් ඔවුන් ඒවා බාර ගන්නෙ ඉෂ්ට බහිරවයන් හරහා. අද අපිට සමාජයේ දකින්න ලැබෙන බොහොමයක් බහිරව පූජා වැටෙන්නෙ මේ කියන ඉෂ්ට බහිරවයන් උදෙසා දෙන පූජා ගණයට.

මේ අයට අපි ඇසුරු කරන ගේ දොර ඉඩකඩම්, වතුපිටි... ආදී මේ මහ පොළව මත අපේ කියල කියා ගන්නා සියලු තැන්වල අයිතිය තියෙනවා. අපි ඔවුන් උදෙසා යම් කිසි පූජෝපහාරයක් පවත්වල, අපි ජීවත් වෙන මේ භූමියේ අහවල් තැන අපි ගෙයක් හදනවා, අපිට ඒ සඳහා අවසරයක් දෙන්න, මේ පූජාවන් අප කෙරෙහි අනුකම්පාවෙන් බාරගෙන මේ ජීවත් වෙන කාලයේ අප විසින් මේ තනා ගන්නා නිවස හෝ ව්‍යාපාරික ස්ථානය හෝ ජලය සපයා ගන්නා ළිං තොටු, වැව්, පොකුණු... ආදියට ආශිර්වාද කරල ඒවා පරිහරණය කරන්න අපිට අවසර දෙන්න කියල ඉල්ලන කොට ඔවුන් (ඉෂ්ට බහිරවයන්) බහිරව දේවතාවන්ට ඒ බව දැනුම් දෙනවා. එතකොට බහිරව දේවතාවන් ඒ කටයුත්තට අවසර දීල කරගෙන යන්න ආශිර්වාද කරනවා. මේ අවස්ථාවෙදි දෙන බහිරව පූජාව නිවැරදි ආකාරයෙන් දිය යුතුයි, නිවැරදිව කැප කළ යුතුයි. එහෙම නැති වුනොත් ඒ පූජාවන් ඔවුන් බාර ගන්නෙ නෑ, ප්‍රතික්ෂේප කරනවා.

මේ ඉෂ්ට බහිරවයන්ට අමතරව තවත් බහිරව කොටසක් ජලය ප්‍රධානකොට නාග බහිරව නමින් අරක්ගෙන ඉන්නවා. අපි ජලය ලබා ගන්නා යම් ආකාරයක් වෙනවද, ඒ කුමන ආකාරයකින් ජලය ලබා ගන්නත්, ඒවා තබා ගන්නත් නාග බහිරවයන්ගෙන් අවසර ලබා ගත යුතුයි. නාග බහිරවයන්ට ඇත් බල ගණන් ශක්තිය තියෙනවා. පුණ්‍ය ඍද්ධි තියෙනවා. දේව බහිරවයන් වගේම ඔවුන්ටත් ස්වරූපය වෙනස් කරල පියවි ලෝකයේ මනුස්සයින්ට පෙනෙන ආකාරයට සනීභවනය වෙන්න පුළුවන්. ඕන තැනකට යන්න එන්නත් පුළුවන්. භෞතික ලෝකයේ ද්‍රව්‍ය වස්තු හසුර වන්නත් පුළුවන්. ඔවුන් හැමවිටම නායකත්වය දරනවා. පෙරදා ගොඩනගපු වැව් අමුණුවල, ජල තටාකවල, ජල පොකුණුවල නයි පෙණ 1 ක්, 3 ක්, 5 ක් හෝ 7 ක්... ආදී වශයෙන් ගලක කොටල තියෙනවා. ඒ ගලේ තියෙන නාග රූපය ජලය දිහා බලා සිටින ආකාරයෙන් නිර්මාණය කරල තියන්නෙ මේ නාග බහිරව රූප. ඒ රූපයේ තියෙන නයි පෙණ ප්‍රමාණයට නාග බහිරවයන් ඒ ජලය තියෙන තැනට අරක් ගෙන ඉන්නවා.



ඉස්සර අවුරුද්දකට වතාවක් නිවෙස්වල හිටපු ගෘහණියන් මේ නාග බහිරවයන් සමග ඒ ගනුදෙනු ඉතා මැනවින් ඉටු කළා. සිංහල අලුත් අවුරුද්දට ගැමි ගෙදර කාන්තාව ගනුදෙනු කළේ මේ නාග බහිරවයන් සමග. ගෙදර උයන පිහන ආදී කටයුතුවල නායකත්වය කාන්තාවන්ට හිමි වුනේ නිසි පරිදි නාග බහිරවයන් සමග ගනුදෙනු පවත්වාගෙන ආ නිසා. **සිංහල අලුත් අවුරුද්ද ලබල ගනුදෙනු කරනකොට ගෙදර කාන්තාව කුල්ලක් අරගෙන ඒකට කෙසෙල් දල්ලක් තියල ඒ මත බුලත් කොළ 9 ක් තියල මැදින් පොල්තෙල් පහනක් දල්වල මී ඇට, කපු ඇට, අබ ඇට, තල ඇට, නෙළුම් ඇට, අඟුරු, විලඳ, තිරිවානා ගල්, සුදු මල්, මී පැණි ඒ පහන වටේට තියල වැඩ අල්ලන නැකතට ළිඳ වටේ 7 වරක් ගිහින්, නාග බහිරවයාණෙනි, මෙපමණ කාලයකට අපේ සාපිපාසාව දුරු කරමින් අපිට ජලය ලබා දුන්න ඔබ වෙනුවෙන් මම කරන මේ ගුණ උපහාරය බාරගන්න කියල, මේ සියල්ල කුල්ල සමග ළිං ජලය මත පාවෙන්න සලස්වනවා. පහනේ තෙල් ඉවර වෙලා නිවුනට පසු විළඳ, මී පැණි ළිඳ වටේට ඉහල ඉතිරිය කාසියක් (පඬුරක්) සමග ළිඳට දමනවා. එතකොට මල්, අඟුරු... ආදිය ළිඳ මත පා වෙවී තියෙනවා. මේ මී ඇට, කපු ඇට, අබ ඇට, අඟුරු මල්... ආදී සියල්ලෙන්ම ජලය පිරිසිදු කරනවා.** ඒ නැගෙන සුද්ධ කිරණවලින් ළිඳේ තියෙන දොස් කැපිල යනවා.

මේ විදිහට අවුරුද්දක් පාසා පෙරදා ගම්තුලානේ ගෙවිලියන් ළිං සමග ගනුදෙනු නියාමාකාරයෙන් ඉටු කළා. **ඒ ගනුදෙනු නියමාකාරයෙන් පියවුන නිසා ඔවුන් බහිරවයන්ගේ සාප කිරීම්වලට ලක් වුනේ නෑ. ඒ නිසා ඔවුන්ට ඒ දොස හරහා එන්න තිබුන වකුගඩු ආබාධ, අධි රුධිර පීඩනය, කොලෙස්ටරෝල්, දියවැඩියාව, මුත්‍රා ආසාදන ඇති වුනේ නෑ. මොකද ඔවුන් නිසි ආකාරයෙන් ගනුදෙනු කරල මේ සියලු දොස නාග බහිරවයන් හරහා අවුරුද්දක් පාසා ඉවත් කරගත්ත නිසා.** ඒත් අද නාගරීකරණයත් එක්ක සංකර වෙච්ච සමාජයේ ඒ වගේ සිරිත් දකින්න නෑ. ඒ නිසා ලෙඩ රෝගත් බහුලයි.

මේ අතර තමන් මනුස්සයෙක්ව හිටපු කාලයේ ගත කරපු ජීවිතය අනුවත්, ආයු කාලය අනුවත් ආතාල බහිරව නමින් තව කොටසක් ඉන්නවා. ආපු තාලය තමයි ආතාල කියන්නෙ. ඔවුන් තමන් මළ පසුත් තමන් විසින් බොහොම දුක්ඛිතව හරි හම්බ කරගත්ත දේවල් කෙරෙහි තෘෂ්ණාවෙන් ඒවාට ලොල් වෙලා බැඳිලා උප්පත්තිය ලබන බහිරව කොටසක්. ඒ වගේම රජ, සිටුවර, මහාමාත්‍යාදීන් යටතේ බැලමෙහෙවරකම් කරල තමන්ට නැති, අනුන්ට ඇති වස්තුවට ධනයට කෑදර පෙරේතකම් කරපු අය. මේ ආතාල බහිරවයන්ට ඇඳිවතක්වත් නෑ. දැඩි දුක්ඛිත ජීවිත ගත කරන අය. මොවුන් හැම තිස්සෙම හැංගිලා ඉන්න උත්සාහ කරනවා. ඉර ආලෝකයට කිසිම ආකාරයකින් නිරාවරණය වෙන්න පුළුවන්කමක් නෑ. සූර්යාලෝකය ඔවුන්ට ඒ තරම්ම අගුණයි.

පහත් දේට ලොල් වූ ගුණ ඇතිව පාතාල බහිරව නමින් තවත් කොටසක් ඉන්නවා. ඔවුන් ශක්තිවන්තයි. ඔවුන්ට යමක් කරන්න පුළුවන්. මොවුන් ගෙවල බහිරවයන් කියලත් හඳුන්වනවා. මේ අය තමන්ගෙ යමක් අන් අයෙක් විසින් අත් කරගත්තොත්, තමන්ට නැති දෙයක් අනෙක් කෙනෙක් ළඟ තියෙනව නම්, ඒවා ඒ අයගෙන් පැහැර ගන්නා කොටසක්. අද කාලයේ සමහර ගෙවල්වල මුදල්, රත්‍රන් බඩු... ආදිය හිටි ගමන් නැති වෙනවා අහන්න ලැබෙනවා. මේ කාරණය ජනවහරෙදි "මොන ගෙවලයා ගෙනිච්චද දන්නෙ නෑ" කියල කියන අවස්ථා තියෙනවා. මේවා කරන්නෙ මේ ගෙවල බහිරවයන් විසින්. සමහර ගෙවල්වල ගෙදර උදවිය නිදාගෙන ඉන්නකොට කොට්ටය යට මුදල් තියල ගිය අවස්ථා අහන්න ලැබෙනවා. ඒ වගේ දේවල් කරන්නෙත් මේ ගෙවල බහිරවයන් විසින්.

තමන් ජීවත් වෙලා ඉන්න කාලයෙදි දූ දරුවන්ට හෝ බිරිඳට හෝ තමන් කැමති විදිහට උදව් උපකාර කරන්න බැරිව මියගිය පසු ගෙවල බහිරවයෙක් වෙලා, තමන් වෙනත් අයෙක් කෙරෙහි ඇති කරගත්ත වෛරයකින් හෝ තමන් ණයට දුන්න මුදලක් නැවත ලබා ගන්න බැරිව හෝ තමන් ජීවත් වෙලා ඉඳෙද්දි වැඩියෙන් ලෙන්ගතුව ඉඳල මියගිය පසුවත් ඒ ලෙන්ගතුකම් උඩ ඔවුන් විඳින දුක් කරදරවලින් අත්මුදවාලීම ආදී කාරණා මුල් කරගෙන අන් අයගේ මිල මුදල් සොරාගෙන ඇවිත් තමන්ගෙ ඥාතියාට ලබා දෙනවා. ඒ ඥාතියා තමන්ට මේ ලැබෙන දේවල් පිළිබඳව යම් කිසිවෙකුට හෝ පැවසුවොත් ඒ ලැබීම වහා නතර කරනවා. ඒ වගේම වෛර බැඳ ගන්නවා. ඉන්පසු සිද්ධ වෙන්නෙ කබලෙන් ලිපට වැටීම. මොකද මනුස්සයන් වගේ නෙවෙයි, නොමිනිස් ලෝකයේ මේ පිරිස් එක්තරා ප්‍රතිපත්තියක පිහිටල ලැජ්ජාව පෙරදැරිව නම්බුකාර විදිහට ජීවත් වෙන පිරිසක්. ඒ නිසා තමන් කරපු මේ වගේ වැරැද්දක් නොපෙනෙන ලෝකය තුල එළි වුනාම ඉතා ලැජ්ජාවට පත් වෙනවා. තමන්ගෙ ඥාතියාට උදව් උපකාර කරන්න ගිහින් තමන්ට අත්වෙච්ච අවනම්බුව නිසා ඔවුන් වෛර බැඳගෙන පළිගන්න බලනවා. මේ තමයි ගෙවල බහිරව හෙවත් පාතාල බහිරවයන්.

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

26 වන කොටස

## සංයුක්ත නිකාය - 1

**නාග සූත්‍රය - 190 පිටුව**

එක් අවස්ථාවක බුදු පියාණන් වහන්සේ අබවස (අභ්‍යවකාශයේ) වැඩ සිටි විටෙක මාර තෙමේ මහා ඇත් වෙසක් මවාගෙන බුදු රජුන් බය ගන්වන්න පැමිණියේය. බුදුන් තමාව දුටු බව දැනගත් මාර තෙමේ අතුරුදන් විය.

**සුභ සූත්‍රය - 190 පිටුව**

එක් අවස්ථාවක මාර තෙමේ බුදු රජුන්ට ප්‍රිය අප්‍රිය රූ සටහන් දැක්වීය. ඒ මාර බව දත් බුදුන් වහන්සේ, තිදොරින් සංවර වූවහුට මරුව තා කුමක් කරන්න දැයි ඇසූ විට මරු අතුරුදන් විය.

**පඨම පාස සූත්‍රය - 192 පිටුව**

බුදුන් වහන්සේ ප්‍රඥාවෙන් වැර වඩා අග්‍රත්තර විමුක්තිය ලැබූ සේ භික්ෂූන්ටත් එසේ වීර්ය කරන්න දේශනා කරන විට, මාර තෙමේ ඇවිත්, දිව්‍ය මනුස්ස පාසයෙන් බැඳුන ඔබට මගෙන් මිදීමක් නැතැයි කී විට, ඒ සියලු මර බැම් බිඳ හැරිය බව දෙසූ විට මරු අතුරුදන් විය.

**දුතිය පාස සූත්‍රය - 192 පිටුව**

බුදුන් වහන්සේ භික්ෂූන්ට අනුසාසනාවක් කරමින්, දෙවියන් මිනිසුන් පිළිබඳ මාර පාසයෙන් මිදුන බවත්, ඒ භික්ෂූන්ද මිදී ඇති බවත් දේශනා කර ධර්ම ප්‍රචාරයට යවන වෙලාවේ මරු පැමිණ උන්වහන්සේට දේව මනුස්ස මාර පාසයෙන් නොමිදුන බව ප්‍රකාශ කළ විට, ඒ සියලු මාර බැම් බිඳ හැරි බව උන්වහන්සේ දෙසීය. තමාව හඳුනා ගත් බව දත් මරු එහිම අතුරුදන් විය.

---

ඊළඟට යම කාල බහිරවයන් කියල තවත් කොටසක් ඉන්නවා. ඔවුන් අසුර දේවතාවන් තරමටම ප්‍රබල කොටසක්. ඔවුන්ට භෞතික වස්තු පවා වෙනස් කරන්න පුළුවන්. කාලගුණ දේශගුණ විපර්යාස ඇති කරන්න තරම් ප්‍රබල ශක්තියක් තියෙනවා. ඔවුන් හැමතිස්සෙම ක්‍රියාත්මක වෙන්නෙ බල තුලනයක් ඇති කරන්න. ඒ නිසා වරදට දඬුවම් දීමත් සිදු කරනවා. හැබැයි තනි පුද්ගලයෙකුට දඬුවම් දෙන්නෙ නෑ. හැමතිස්සෙම සමස්තයක් අරගෙන ඔවුන් අතින් සිද්ධ වෙච්ච සියලු අවැඩ අසාධාරණ හිංගි හිංසා සියල්ල එකතු කරල කැටි කරල සමූහයක් සඳහා විපාක දෙන්න කටයුතු කරනවා. නාය යාම්, ගං වතුර, කුණාටු, අකුණු, සුලි සුළං ආකාරයෙන් ක්‍රියාත්මක වෙනවා. ඒ වගේම ඉඩෝර කාලවල, දැහැමි පාලකයෙක් නැති කාලවල ඉපදෙන්න සලස්වනවා. රටේ සමාජයේ දුරාචාර අපචාර වැඩිවෙනකොට, නීතිය නිසි පරිදි ක්‍රියාත්මක නොවෙනකොට, නිසි කලට වැස්ස නොලැබීම, සාගත, නියං ඇති කිරීම, නිදහස් නිරවුල් ජීවිත ගත කරන්න බැරි සමාජවල ජීවත් වෙන්න ඉඩ ප්‍රස්ථා සැලැස්වීම... ආදී දේවල් තුලින් දඬුවම් ලබා දෙනවා. ඒ සඳහා ඒ අයට පුළුවන් විදිහට බලපෑම් එල්ල කරනවා. එතකොට ඒ ඒ අයගෙ කර්ම ශක්තීන්ට යටත්ව ඒවා ක්‍රියාත්මක වෙනවා.

ඊළඟට ඔඩ්ඩි බහිරවයන් කියන්නෙ කලින් සඳහන් කරපු විදිහට නිදන්වලට බිලි දීල, ඒ තුලින් බලෙන් හිර කරල ඒවාට බන්ධනය කරපු කොටස. ඊට අමතරව ලෝකයේ විද්‍යමාන වෙන තවත් බහිරව කොටසක් ගිනි බහිරවයන් වශයෙන් ඉන්නවා. ඔවුනුත් විපාක භුක්ති විඳිමින් තවත් අය කරා විපාක පමුණුවන පිරිසක්. මොවුන් ගිනි කඳු, යමහල් (ලාවා සහිත කුහර) ආශ්‍රිතව උප්පත්තියක් ලබල ඒ තුල දැවි දැවී ජීවත් වෙනවා. ඒ වගේ තැන්වල විපාක භුක්ති විඳල අවසානයේ අත්මිදිල නිදහස් වෙනවා. ඒ ගිනි කඳු පිපිරිලා නැවත ඇතිවෙනකොට ඒවාට උප්පත්තියට එන්නෙත් ඔවුන්ව ඒ තත්වයට පත්වෙන්න දායක වෙච්ච කොටස්. ඔවුනුත් බොහෝ කොටම ඒ යමහල් තුලම ගිනි බහිරවයන් වශයෙන් උප්පත්තිය ලබනවා. කල්ප කාලාන්තරයක් දුක් විඳල ගිනි කඳු පිපිරිලා යම් කාලයකදි ඔවුනුත් නිදහස් වෙනවා.

ඉතින් මේ මොන බහිරවයෙක් විදිහට උප්පත්තිය ලැබුවත්, සසරෙ දුකක්මයි විඳින්නෙ කියන කාරණයත් ධර්මානුකූලව තේරුම් ගන්න ඕන. තමන් සැප විඳින්න බලාපොරොත්තුවෙන් ඒ සියලු කටයුතු කළත්, අන්තිමට භවයට හිර වෙච්ච බහිරවයෙක් විදිහට උප්පත්තිය ලබනව කියන්නෙ තවත් දුක් විඳින අවස්ථාවකට පත් වීම. දහම අවබෝධ වෙච්ච උදවියට තමයි ඒ කාරණය තේරුම් ගන්න පුළුවන් වෙන්නෙත්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**<u>සප්ප සූත්‍රය - 194 පිටුව</u>**

එක් අවස්ථාවක මාර තෙමේ මහා නයෙකුගේ වෙස් ගෙන බුදු රජුන් බය ගැන්වීමට පැමිණියේය. තමාව හඳුනාගත් බව දත් විට මරු අතුරුදන් විය.

**<u>සොප්පසි සූත්‍රය - 196 පිටුව</u>**

මාර තෙමේ දිනක් බුදුන් වහන්සේට නිදීම ගැන, කුමට නිදයිද, හිරු නැගි කලත් කුමට නිදයිද... ආදී ලෙස අපවාද කළේය. බුදු රජුන්, ජාලිනී නම් වූ විසත්තිකා නම් වූ තෘෂ්ණාව ක්‍ෂය කළ බුද්ධ තෙමේ සියලු උපධීන් ක්‍ෂය කිරීමෙන් හොවී (වාසය කළා) මරුව මෙහිලා තට කිම යැයි ඇසූ විට, තමාව හැඳින ගත් බව දත් මරු අතුරුදන් විය.

**<u>නන්දති සූත්‍රය - 196 පිටුව</u>**

දරුවන්, ගෙරින් (ගවයින්) ඇත්තේ ඒ නිසා සතුටු වේ. උපධීහු මිනිසාගේ නන්දනයෝය. උපධි රහිතහුට මොන සතුටක්ද? මරු මෙසේ ඇසීය. දරුවන්, ගෙරින් ඇත්තේ ඒ නිසා ශෝක වෙයි, උපධීහු මිනිසාගේ සෝචනයෝය (ශෝකයෝ), යමෙක් උපධි රහිත නම් හේ ශෝක නොකෙරේ යනුවෙන් බුදු රජ දෙසූ විට මරු අතුරුදන් විය.

**<u>පඨම / ද්විතීය ආයු සූත්‍රය - 198 පිටුව</u>**

බුද්ධ දේශනාවකට විරුද්ධව මරු මෙසේ කීය. මිනිසාගේ ආයුස දීර්ඝය. සත්පුරිසයන් එය හෙළා නොදක්නේය. තණපා මතුයෙහි වැටෙන ළදරුවෙක් සේ හැසිරේ (කිරි බොන ළදරුවෙක් මෙන් හැසිරේ). මරණයෙන් ඊමෙක් නැත (මරණයක් නැත). එවිට බුදුන් වහන්සේ මෙසේ දේශනා කළේය. මිනිසුන්ගේ ආයුස කෙටිය. සත්පුරිසයන් එය වර්ණනා නොකරත්, හෙළා දකිත්. හිස ගිනි ගත්තෙකු මෙන් හැසිරෙන්නේය. මරණයෙන් නොඊමෙක් නැත (මරණය පැමිණේ). දිව රෑ ඉක්ම යමින් ජීවිතය නිරුද්ධ වේ. කුඩා දිය දහරක් සිඳී යන සේය. එවිට මරු අතුරුදන් විය.

**<u>පාසාණ සූත්‍රය - 200 පිටුව</u>**

මාර තෙමේ බුදු රජුන් බය ගැන්වීමට නොයෙක් ගල් පෙරළීය. ඒ බව දත් බුදු රජුන්, ඉදින් ගිජුකුළු පව්ව පෙරලුවත් බුදුවරුන්ට කම්පනයක් නැත යනුවෙන් දෙසූ විට ශෝක වූ මාර තෙමේ අතුරුදන් විය.

**<u>සීහ සූත්‍රය - 200 පිටුව</u>**

භික්ෂූන්ට දහම් දෙසන බුදු රජුන් වෙත මාර තෙමේ විත්, කිම සිංහයෙකු සේ නාද කෙරෙහිද, දිනූ විජය ඇතැයි හඟිහිද, නුඹට විරුද්ධකරුවෙක් ඇතැයි කීය. එවිට බුදු රජුන්, ලොව තෘෂ්ණාව තරණය කර බලයට පත් මහා වීර වූ තථාගතයෝ පිරිස්හි සීහ නාද කෙරෙත් යැයි පැවසූ විට මරු අතුරුදන් විය.

**<u>සකලික සූත්‍රය - 202 පිටුව</u>**

රජගහ නුවර මද්දකුච්චි නම් වනයේදී බුදු රජුන්ගේ පාදය ගල් පතුරකින් පහළේය. වේදනාව ඉවසා සැතපී සිටි බුදු රජුන් වෙත පැමිණි මරු මෙසේ ඇසීය. මුලා බවින් හෝ කවි භාවයෙන් මත් වූයේ හෝ නෙහිනු (නිදන්නේද) ? (කවි බැඳීමට හිතන කවියන් ඒ හිතෙන් මත්ව හිත හිතා ඉන්නා සේ) නුඹට වැඩ නැත්ද ? ජනයාගෙන් වෙන්ව නිදිබර මුහුණු ඇතිව කුමක් හෙයින් හෝ නේද?

මුනිඳු :- මුලා බවින් හෝ කවි භාවයෙන් මත් වූයෙන් නොනිදමි. පරමාර්ථයට මැනවින් පැමිණියෙමි. ශෝක නැත්තෙමි. සර්වජන හිතානුකම්පීව ජනශූන්‍ය අරණෙහි හුදෙකලාව හෝ නෙහිය (සැතපී සිටියා, වාසය කළා). රාගාදී හුල් වැදී හදවත ක්‍ෂණ ක්‍ෂණයෙන් සැලෙන්නහුද නිදති. උල් නැති මා කෙසේ නම් නොනිදම්ද? (කෙළෙස් උල් නැති මා නොනිදා ඉන්නේ කුමටද?) එවිට මරු අතුරුදන් විය.

**<u>පතිරූප සූත්‍රය - 204 පිටුව</u>**

මරු මෙරමා හට අනුසාසනා කිරීම නොහොබී. එය කරමින් රාග පටිඝ දෙකෙහි නොලැගෙව. ධර්මයකින් බුද්ධ තෙමේ මෙරමා හට අනුසාසනා කරත්ද, රාග පටිඝ දෙකෙන් විශේෂයෙන් මිදුනේ වේ. මෙසේ කී විට මරු අතුරුදන් විය.

**<u>මානස සූත්‍රය - 204 පිටුව</u>**

අන්තරීක්‍ෂ චර වූ සිත්හි හට ගන්නා රාග පාශයෙන් හැසිරේද (ෂඩ්ධි අභිඥා බලවලින් අහසින් යන අය පවා රාගාදී කෙළෙස්වලට බැඳේද), මම එයින් නුඹව පෙළමියි මාර තෙමේ කීය. භාග්‍යවතුන් වහන්සේ, සිත්කළු වූ රූප, ශබ්ද... ආදී අරමුණු කෙරෙහි රාගය පහ වූයේය, මරුව තෝ නටුහි (නැසුනා) යැයි කී විට මරු අතුරුදන් විය.

**<u>පත්ත සූත්‍රය - 204 පිටුව</u>**

බුදු පියාණන් වහන්සේ භික්ෂූන්ට ධර්ම දේශනා කරන වෙලාවක මාර තෙමේ නුවණැස වසන අටියෙන් ගොන් වෙසක් මවාගෙන භික්ෂූන් වහන්සේලා පාත්‍ර තබා තිබූ තැනට ආවේය. අර ගොනා පාත්‍ර බිඳී යැයි භික්ෂුවක් කී විට බුදු පියාණන් වහන්සේ, ඒ ගොනෙක් නොව මාරයා බව පැවසීය. එවිට මරු අතුරුදන් විය.

**<u>ආයතන සූත්‍රය - 206 පිටුව</u>**

බුදු පියාණන් වහන්සේ ෂඩ් ස්පර්ශ ආයතන ගැන කළ දේශනාවකට සවන් දෙමින් සිටින විට, මාර තෙමේ භික්ෂූන් සිටින පොළව පෙදෙස පටත් පටත් යන අනුකරණයෙන් සෙළවෙන සේ කළහ. එය පොළව පෙරළීමක් නොව මරුගේ වැඩක් බව දේශනා කළ විට මරු අතුරුදන් විය.

**<u>පිණ්ඩ සූත්‍රය - 208 පිටුව</u>**

බුදු රජුන් මගධ දේශයේ පංචශාලා ගමේ පිඬු පිණිස හැසිරෙන කල මරු පිඬු නොලැබෙන සෙයක් කළේය. ආපසු වඩින බුදු රජුන්ට, මහණ පිඬු ලැබුනේ දැයි සරදම් කර නැවත වඩින ලෙස කීය. බුදු පියාණන් වහන්සේ, රාගාදී ක්ලේශ ජාතයන් නැති අප ආභස්සර බඹුන් සේ ප්‍රීතිය ආහාර කර සිටිමු යැයි දේශනා කළ විට මරු අතුරුදන් විය.

**<u>කස්සක සූත්‍රය - 210 පිටුව</u>**

බුදු රජුන් නිවන පිළිබඳ දැහැමි කතාවෙන් භික්ෂූන්ට දම් දෙසන විටෙක මාර තෙමේ ගොවි වෙසක් ගෙන නගුලක් කෙවිටක් කර තබා විත්, ශ්‍රමණය මාගේ ගොනුන් දුටුවෙහි දැයි ඇසීය. මරු බව දත් බුදු රජ එවිට, තට ගොනුන්ගෙන් කවර ප්‍රයෝජන දැයි ඇසීය. මාර තෙමේ, ශ්‍රමණය ෂඩ් ඉඳුරන්ද, ෂඩ් අරමුණුද, ෂඩ් සම්ඵස්සද, ෂඩ් විඤ්ඤාණද මාගේය, කොහි ගොස් මාගෙන් මිදෙන්න දැයි ඇසීය. බුදු රජුන්, ඒ සියල්ල නැති තැන තාගේ ගමනක් නැතැයි දෙසූ විට මරු අතුරුදන් විය.

**<u>රජ්ජ සූත්‍රය - 212 පිටුව</u>**

බුදු පියාණන් වහන්සේට මේ චිත්ත විතර්කය පහල විය. නොනසමින් නොනස්වමින්, ධන හානි නොකරමින් නොකරවමින්, ශෝක නොකරමින් නොකරවමින් රජය කළ හැකිද? පවිටු මරු ඒ බව දැන ගෞරව සහිතව විත් රජය කළ හැකි බව කියා රජ කරන ලෙස ඉල්ලීය. ඉන් තොප කුමක් දැක මෙසේ කියයි දැයි ඇසූ විට, හිමවත් පව්ව වුවද රන් පව්වක් කළ හැකි බලය බුදු රජුන්ට ඇති බව කීය. එවිට බුදු රජ එබඳු පව් දෙකක් නමුත් මිනිසෙකුට සෑහීමට තරම් මදි බව පෙන්වා, ලෝකයෙහි

පස්කම් “සංග” යැයි දැන ඥානවන්තයෝ එය දුරලන්නේ යැයි දෙසූ විට මරු අතුරුදන් විය.

<u>සම්බහුල සූත්‍රය - 214 පිටුව</u>

නිවන් සඳහා මෙහෙය වූ සිත් ඇති තරුණ භික්ෂූන් පිරිසක් වෙතට පැමිණි මරු, වයසක මිනිස් වෙසක් මවාගෙන දිඹුල් දණ්ඩක් අතින් ගෙන විත් තරුණ වයසේ කම් සුව විඳින ලෙස ඉල්ලීය, නොදුටු සුව නොසොයන ලෙස කීය. භික්ෂූන්, කම් සුව ගිනි බවත්, නිවන් සුව දැක පිහිටන බවත් කී විට, මරු හිස පහත් කර දිව එළියට දමා නළල රැලි කර යන්න ගියේය. මරු බව නොදත් භික්ෂූන් මේ සිද්ධිය බුදු රජුන්ට කී විට ඒ පවිටු මරු බව දෙසීය.

<u>සමිද්ධි සූත්‍රය - 216 පිටුව</u>

බුදු රජුන් ශාක්‍ය දනව්වෙහි සිලාවතී ගම්හි වැඩ වසන කළ සමිද්ධි තෙරුන්ට යහපත් චිත්ත පරිවිතර්කයක් පහල විය. බුදුන් සම්මා සම්බුද්ධය, ධර්මය ස්වාක්ඛාතය, සංඝයා සුපටිපන්නය, මට ඒ ඇසුර මහත් ලාභයකි. මේ දැනුන මාර තෙමේ පොළව පෙරලෙන වැනි බියජනක හඬක් කළේය. එවිට සමිද්ධි තෙරණුවෝ, තමන් සිහි නුවණින් ලොව කාම මැඩ පවත්වා සිටින බවත්, මරුට කැමැත්තක් කරවයි මට කම්පා නැතැයි කී විට මරු අතුරුදන් විය.

<u>ගෝධික සූත්‍රය - 220 පිටුව</u>

හය වතාවක් ලෞකික සමවතකින් පිරිහුන ගෝධික තෙරුන් සැතකින් දිවි තොර කරගන්න සිතීය. ඒ බව දත් මාර තෙමේ බුදු රජුන්ට මෙය කියා එසේ නොකරන ලෙස අවවාද කරන්නැයි කීය. ඒ වනවිටත් ගෝධික තෙරුන් සැත්හරණය කර ගෙන තිබින. බුදු රජුන්, නුවණැත්තෝ මෙසේද කෙරෙත්, දිවි නොපතත් යැයි වදාරා ගෝධික අරිහත්ව පිරි නිවි බව මරුට දෙසීය. මරු ගොස් ගෝධික තෙරුන්ගේ දේහය අසළ කර කැවෙමින් අත්බැව ගිය දිසාවක් සෙවීය. බුදු රජුන් භික්ෂූන්ට දුමාරයක් සේ මරු සැරිසරන අයුරු පෙන්වා, මරු කොහේ සොයන්ටද, ගෝධික අනුපධිශේෂව පිරිනිවී යැයි පැවසීය.

<u>සත්තවස්ස සූත්‍රය - 222 පිටුව</u>

බුදුන් වහන්සේ බුදු වී හත් වසකට පසුව උරුවෙල් දනව්වෙහි නේරංජනා නදිය අසබඩ අජපල් නුග රුක මුල වැඩ සිටි වෙලාවක මරු ඇවිත් මෙසේ ඇසීය. වනෙහි සිතිවිලි සිතහිද? ශෝකයට බටුයෙහිද? ධනයක් පැරදුනෙහිද? යළි පතමින් හිඳියිද? ගමෙහි යම් අපරාධයක් කළෙහිද? කුමක් හෙයින් මහජනයා සමග මිත්‍රභාවයක් නැතියේද? කිසිවෙකු හා නුඹගේ මිත්‍රභාවයක් නැතිද?

මීට පිළිතුරු දුන් බුදු රජුන් :- මාරය, මම ශෝක මුල් හැම හැර දමා ශෝක නොකරමින් නිරපරාදව සිට ධ්‍යාන කරමි. සියලු භව ලෝභ සංඛ්‍යාත තෘෂ්ණාව සිඳ ආශ්‍රව රහිතව ධ්‍යාන කරමි.

මරු :- මේ මාගේ යැයි කියත්ද, මා ගැත්තේ යැයි (ගැති වෙනවා) කියත්ද, ශ්‍රමණය එබන්දෙක් මාගෙන් නොමිදේ.

බුදු රජුන් :- යමෙක් මාගේ යැයි කියත්ද එය මාගේ නොවේ. යමක් මා ගැත්තේ යැයි කියත්ද එය මම නොවේ. මා ගිය මගද තොප නොදන්නේය.

මරු :- ඉතින් නිවන අවබෝධ කළේ නම් පහවනු මැනව. කුමක් හෙයින් අනුන්ට අනුසාසනා කරයිද?

බුදු රජුන් :- පරතෙර යන යමෙක් නිවන විචාරයිද, යමක් සත්‍ය වේද, උපධි රහිතද මම එය කියමි.

මරු තමාගේ පරාජය පිළිගෙන, කකුළු උපමාවද, මස් කැටියක් යැයි මේදෝවර්ණ පාසානයක් ඩැහැගන්න ආ කවුඩෙක් මෙන්ද බුදු රජුන් පසුපස සිදුරු සොයා ආ බවත් තවත් එසේ එන්න අපොහොසත් බවත් පවසා ඉවත් විය.

(බුදුන්ගේ සිදුරු අඩුපාඩු සොයන්නවිත්, කකුළුවෙකුගේ අඬු කැඩූ විට යාමට නොහැකි සේ තමාද අඬු කඩා ගත් බවත්, රක්ත වර්ණ පාෂාණයට මස් කැටියක් යැයි රැවටුනු කපුටෙක් සේ තමාද රැවටුනු බවත්)

<u>මාරධීතු සූත්‍රය - 226 පිටුව</u>

මාරයා වන තම පියාගේ ශෝක සංවේග පරාජය දුටු තණ්හා, රතී, රගා යන මාර දූවරුද පැමිණ විවිධ වෙස් ගෙන බුදු රජුන් කාමයට පොළඹවන්ට යත්න දරා බැරි තැන මාර දෙව් පුත් ඇසූ ලෙසම, සෝකයට බටුයෙහිද... ආදී වශයෙන් බුදුන්ගෙන් ඇසීය. පෙර සේම මරුට කී ලෙස, ලෝ සතුන් සමග මිත්‍රත්වයක් නොකරන බව බුදු රජ දෙසීය. කෙලෙසුන්ට යටත් නොවන අරිහත් ඵලය ගැනද දෙසීය. පරාජය වූ මරගනන් මරු වෙත ආපසු ගියවිට නොයෙක් ලෙස ඔවුන්ට මාර තෙමේ අපහාස කළේය. අධික ලෙස දිළිසෙමින් බුදු රජුන් වෙත පැමිණි මාර දූවරු මහා සුළඟකින් ඉදුනු කොළයක් ඉවත් කරන ලෙස ඉවත හැරියේය.

<u>ආළවිකා සූත්‍රය - 232 පිටුව</u>

මාර තෙමේ ආළවිකා මෙහෙණට කාමයන් විඳින ලෙසත් සුව දෙන නිවනක් නැති බවත් කී විට, නිවන ඇති බවත් කාමයෝ ආදීනව සහිත බවත් මෙහෙණින් කී විට මරු ඉවත ගියේය.

<u>සෝමා සූත්‍රය - 234 පිටුව</u>

මාර තෙමේ සෝමා මෙහෙණියට, ඉසිවරුන් ලබන තත්වය දෑඟලක් (අඟල් 2 ක්) නුවණ ඇති ස්ත්‍රිය කෙසේ ලබන්ට දැයි අපහාසයක් කළේය. මරු බව හැඳින ගත් ඇය දුන් පිළිතුරෙන් මරු ඉවත් විය.

<u>ගෝතමී සූත්‍රය - 236 පිටුව</u>

මාර තෙමේ, දරුවන් නැත්ති (දරුවා මිය ගොස්) දුක් වෙමින් පුරුෂයෙක් සොයා වන මැද සිටී දැයි ගෝතමියගෙන් ඇසීය. ඇයගේ පිළිතුරෙන් මරු පැරදී ගියේය.

<u>විජයා සූත්‍රය - 236 පිටුව</u>

මාර තෙමේ විත් විජයා මෙහෙණිය අමතා, තෙපි සුරූපී යෞවනයි, මමද යෞවනෙහි සිටිමි, එව පසඟතුරු නදින් (පස්කම් සැපෙන්) තුටු වෙමුයි කීය. මාර බව දත් මෙහෙණින්ගේ දහම් වදන ඇසූ මරු අතුරුදන් විය.

<u>උප්පලවණ්ණා සූත්‍රය - 238 පිටුව</u>

අන්ධ වනයේදී මාර දෙව් පුත් සල්ලාල වෙසක් මවාගෙන උප්පලවණ්ණා මෙහෙණින් වර්ණනා කර කාමයට පොළඹවන්න තැත් කළත්, සියලු කාමයෝ ප්‍රහීණව සිව් ඍද්ධිපාද සහිතව අභිඥාලාභීව සිටි මෙහෙණින් වහන්සේ මරුට බිය නැති බවද, අතුරුදන්ව බඩට හෝ ඇස් අතර නැහැයටද අවශ්‍ය නම් යා හැකි බවද කී විට මරු අතුරුදන් විය.

<u>චාලා සූත්‍රය - 240 පිටුව</u>

චාලා මෙහෙණිය ජාතිය නුරුස්නා හේතු කී විට (ජරා, මරණ... ආදී දුක් ගෙන දෙන බැවින් ජාතියෙහි හරයක් නැත) මාර තෙමේ අතුරුදන් විය.

<u>උපචාලා සූත්‍රය - 240 පිටුව</u>

ඉපදෙන්න කැමති වන ලෙසත්, කාමයෝ භුක්ති විඳින ලෙසත් මාර තෙමේ කී විට, කාමයන්ගේ සහ ඉපදීමේ ආදීනව කියා නිවනේ සුව කී විට මරු අතුරුදන් විය.

<u>සීසූපචාලා සූත්‍රය - 242 පිටුව</u>

මෙම මෙහෙණ වෙත පැමිණි මාර තෙම පාෂාණ්ඩ (දෘෂ්ටි) කෙසේ

දැයි ඇසූ විට දෘෂ්ටිවලට නොබැඳෙන බව කීය. පාෂාණ්ඩයන් (බුදු සසුනෙන් බැහැර දෘෂ්ටිකයින්) සසුනෙන් පිටත බවත් ඔවුහු දහමෙහි අදක්ෂයන් බවත් පෙන් වූ විට මරු අතුරුදන් විය.

<u>සේලා සූත්‍රය - 244 පිටුව</u>

මේ කය කවරෙක් විසින් කරන ලද දැයි මාර තෙම ඇසූ විට, මෙය හේතු ඵලයක් බවත් හේතු නිරෝධයෙන් ඵලය නිරෝධ වන බවත් පෙන්වූ විට මරු අතුරුදන් විය.

<u>වජිරා සූත්‍රය - 246 පිටුව</u>

මාර තෙමේ වජිරා මෙහෙණගෙන් සත්වයා ගැන ප්‍රශ්න 4 ක් ඇසීය. මෙහි සත්වයෙක් නොලබන බවත්, හුදු සංස්කාර පිණ්ඩයක් බවත්, සත්ව ඇදහීම මාර දිටුවක් බවත් පෙන්වා, දුකම ලැබේ, දුකම පවතී, දුකම විඳී, අනිකක් නැතැයි හේතු පෙන්වන විට මරු අතුරුදන් විය.

<u>ආයාචන සූත්‍රය - 248 පිටුව</u>

බුදු රජුන් පළමුව දහම් ගාම්භීරත්වය මෙනෙහි කරන කල, සහම්පතී බඹගේ ඇරයුමෙන් ලෝ සත බලා සුදුසු පැනැස් (ප්‍රඥා ඇස්) ඇත්තවුන් මුල් කර දහම් දෙසන්ට සිතීය.

<u>ගාරව සූත්‍රය - 252 පිටුව</u>

බුදු රජුන් නේරංජනා නදිය අසබඩ අජපල් නුගරුක මුල වැඩ හිඳිමින් ගුරු තනතුරට තබන්න සුදුසු කිසිවෙක් තිලොවම නැති බව දැන ශ්‍රී සද්ධර්මයම ගුරු තැන්හි තැබීය.

<u>බ්‍රහ්මදේව සූත්‍රය - 254 පිටුව</u>

බ්‍රහ්මදේව නම් කුල පුතෙක් බුදු සසුනෙහි මහණව අරිහත්වයට සුදුසු සොළොස් කරණී කර තවත් කළ යුත්තක් නැතැයි දැනගති. මේ බව දත් සහම්පතී බඹ තෙමේ මුන්වහන්සේගේ මව් නිවසට පැමිණ, මවට තම පුතුන් වහන්සේගේ අරිහත් ගුණ වනා, මහ බඹුට යාතිකා කරමින් නන් නොදොඩා දානය දෙන ලෙස දැන්වීය. ඇයද බ්‍රහ්මදේව රහතුන් වහන්සේ කෙරෙහි පැහැදී දානාදී පින් කළාය.

<u>බක බ්‍රහ්ම සූත්‍රය - 258 පිටුව</u>

ලොව නිච්ච වූ සාස්වත වූ නොමියෙන නොදිරන කෙනෙක් ලෙස දෘෂ්ටි ගෙන සිටි බක බ්‍රහ්ම වෙත වැඩි බුදු පියාණන් වහන්සේ තතු දන්වා බක බ්‍රහ්ම දමනය කළ අයුරු පෙන්වයි.

<u>අපරා දිට්ඨි සූත්‍රය - 260 පිටුව</u>

එක්තරා බඹෙකුට, මෙහි කිසිම ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් නොපැමිණේ යැයි දිටුවක් උපන. බුදු රජුන් ඒ දැක තේජෝ කසිණයට සම වැදී දික් කළ අතක් වක් කළ සැනින් බඹ සිරස කෙලින් උඩ පළඟින් වැඩ සිටියේය. එසේම ඒ අවස්ථාව දිවැසින් දත් මුගලන්, මහා කාශ්‍යප, මහා කප්පින, අනුරුද්ධ යන තෙරවරුද එසේම වැඩ පළඟින් බඹ සිරස වට වැඩ සිටියේය. බඹහුගේ දිටුව කෙළවර විය. එතැන් පටන් බඹ තෙමේ සසුනට ගරු කළේය.

<u>පමාද සූත්‍රය - 264 පිටුව</u>

සුබ්‍රහ්ම, සුද්ධාවාස යන බඹුන් දෙදෙනා බොදුනුවන්ය. බලවත් බ්‍රහ්මයෙක් වෙත ගිය මේ දෙදෙනාට තම බලය පෙන්වාලූ විට, එවැනි දෙගුණයක බලයක් ඒ බඹුන් දෙදෙනා පෙන්වා ඔහු මැඩලූ පසු බුද්ධ උපස්ථානයට ඔහුද පසුව ආවේය.

<u>කෝකාලික සූත්‍රය - 268 පිටුව</u>

සුබ්‍රහ්ම සහ සුද්ධාවාස බ්‍රහ්මයින්, කෝකාලික මහණ අගසව් දෙනමගේ ගුණ බිඳ කතා කිරීම නිසා, බුදු පියාණන් වහන්සේ ළඟ ඒ බව පවසා, ඒ පෘතජ්ජන කෝකාලික අවකුජ්ජ පඤ්ඤයෙකැයි (යටිකුරු කළ බඳුනකට ජලය දැමූ විට නොපිරෙනා සේ කෙතරම් දහම් දෙසුවද අඥානකම නිසා නොවැටහෙන) ප්‍රකාශ කළේය.

<u>කතමෝරක තිස්ස සූත්‍රය - 268 පිටුව</u>

සුබ්‍රහ්ම සහ සුද්ධාවාස බඹුන් දෙදෙනා බුදු පියාණන් ළඟ කතමෝරක තිස්ස මහණුන් අරහයා, ඛීණාසවයන් (ආසව ක්ෂය කළ අරිහතුන්) පමණ කර (ගුණ සීමා කර) කතා කරන්නා වූ යමෙක් වේද, මහ අවකුජ්ජ පඤ්ඤ වූ අඥානයෙකැයි කියා ගියේය.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 94 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

<u>ශ්‍රම දයකත්වය</u>

■ පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය මොරගොල්ලේ ඉන්දසුමන හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

<u>මූල්‍යමය දයකත්වය</u>

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමි දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රු ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 23,950/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දෑදිගම මහත්මිය - ඇමරිකාව - රු. 23,850/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ විමර්ශා සල්පගේ මෙනවිය - කිරිබත්ගොඩ - රු. 17,650/- ■ සමන්ත දියෝගබදු මහතා, ගයනි ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබදු පුතා, ඩිලාරා දියෝගබදු දුව - ඩුබායි, ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය - නුගේගොඩ - රු. 11,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා

- කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ සරත් ගුණවර්ධන මහතා - කළුතර - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,850/- ■ අසේල දික්කුඹුර මහතා - ඇමරිකාව - රු. 8,850/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 7,100/- ■ පූජ්‍ය ලබුගම ඥානධීර හිමි - රු. 5,000/- ■ එන්. ජී. ජයතිලක මහතා සහ එන්. ජයතිලක මහත්මිය - මහනුවර - රු. 5,000/- ■ ජේ. එම්. ඒ. බණ්ඩාර මහතා, වී. එස්. ජයතිලක මහත්මිය සහ ජේ. එම්. ඕ. නවින්ද්‍යා බණ්ඩාර දුව - මහනුවර - රු. 5,000/- ■ උපුල් ජයරත්න මහතා සහ ගිහානි ජයරත්න මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 5,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ චාමර මධුසංක මහතා, නදීරා ගලගෙදර මහත්මිය, යෙසඳි බිමංසා දුව - පිළියන්දල - රු. 5,000/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 4,450/- ■ රවී අමුණුගම මහතා, හේමාලී අමුණුගම මහත්මිය - ඇමරිකාව - රු. 4,450/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාශා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, සුමුදු විද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - රද්දොළුගම - රු. 3,500/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ පෙරේරලාගේ විශ්වරා නිර්මාණි පෙරේරා මෙනවිය - රාජගිරිය - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,500/- ■ ජගත් විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 2,500/- ■ වැවගෙදර ධම්මික නිලන්ත ප්‍රසාද් මහතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 2,500/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා, චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය සහ සෙතුකි දම්නාද අමරසේකර දුව - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ ඩබ්. සුමල් ටෙරන්ස් ද සිල්වා මහතා - කලුවම්මෝදර - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ උදේශා සංජීවනී මෙනවිය - යක්කල - රු. 2,000/- ■ ඩිලානි පෙරේරා මෙනවිය - හේනෙගම - රු. 2,000/- ■ බී. ඒ. වීරසේන මහතා, සෙනරත් බණ්ඩාර මහතා, හසිත කසුන් බස්නායක මහතා, කුසල් බස්නායක පුතා, අනුරිකා වීරසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - යක්කල - රු. 2,000/- ■ කසුන් ජයකොඩි මහතා - දෙඩම්ගොඩ - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ ඩබ්. එම්. විජේසූරිය මහතා සහ දිලානි දීපිකා මහත්මිය - හසලක - රු. 1,200/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළුගෙඩිහේන - රු. 1,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර - රු. 1,000/- ■ ඉන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය - වෙලගෙදර - රු. 1,000/- ■ ඩී. ටී. ඒ. ගුණතිලක මහතා ඇතුළු පවුලේ සැම - වෙලගෙදර - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ ඩබ්. ඒ. එස්. සෙනෙහෙලතා මහත්මිය, එම්. එල්. එම්. සුමනසූරිය මහතා, එම්. එල්. එම්. දර්ශන මධුශංක මහතා සහ එම්. එල්. එම්. සසිඳු දුල්සිත පුතා - වේවැල්දෙනිය - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ ඒ. ඒ. අකිල ඩිල්ශාන් පුතා - රදවාන - රු. 1,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - උළුවිටිකේ, ගාල්ල - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ නිලන්ති දබරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ නිරෝධා ධනංජනී මෙනවිය - දියතලාව - රු. 1,000/- ■ කේ. ඒ. දුල්නිත නිසිඳු කුමාර පුතා - පාදුක්ක - රු. 1,000/- ■ ඒ. ජී. ඒ. ආරියවතී මහත්මිය - බැද්දගාන - රු. 1,000/- ■ ලලනි ජයරත්න මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ■ පැතුම් චානුක ලොකුගේ මහතා - පාදුක්ක - රු. 1,000/- ■ පී. කේ. සිතුමි සනිල්කා දුව සහ පී. කේ. සදිල් මෙතුප පුතා - අවිස්සාවේල්ල - රු. 1,000/- ■ විශාඛා ඇටිපොල මෙනවිය - මාතලේ - රු. 1,000/- ■ ධනපාල විජේසිංහ මහතා - මහනුවර - රු. 1,000/- ■ විහංගා මහත්මිය - හංවැල්ල - රු. 1,000/- ■ ජී. ඒ. ආලෝක නුවන් මහතා - ගාල්ල - රු. 1,000/- ■ රසිකා අතුකෝරල මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, විසුද්ධා තරුනෙතු මෙනවිය - රදවාන, ලලිත් තුසන්ත මහතා - අරනායක, චාන්දනී සමරකෝන් මෙනවිය - කන්තලේ, එච්. ඉමිල අමල් වික්‍රමසිංහ මහතා - කොකිස්කඩේ හන්දිය - එකතුව - රු. 5,500/-, ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 398,150/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 17,660/- ■ සම්පූර්ණ වියදම - රු. 412,910/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.52/- ■ නිෂ්පාදන කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියව ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com** **webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා, 2 වන සහ 4 වන සෙනසුරාද භාවනා වැඩසටහන පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථානඃ

■ චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිදිවැල - 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්‍ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 066 2244061 ■ චන්දුල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# ලකුණ්ටක භද්දිය තෙර...



අවිදු අඳුර බිඳ මොක් මග දුටු නැණැති
පසිඳු දෙව්රමෙහි වැඩ විසූ මහ පිනැති
තෙරිඳු සඳ ලකුණ්ටක භද්දිය නමැති
කෙබඳු වෙද සිරුර බොහො මිටි බව කියති

උසුළු විසුළු මැද සෙසු මහණුන් අතර
සියලු ගැහැට ඉවසති කුළුණින් නිතර
විහිළුවට වුවද කිසි වරදක් නොකර
යහළුකම රකිති විරසකකම් අතැර

බැති සිත් පෙරටු කොට පින් දම් කරන ලද
පෙර අත් බැවෙක පින්වත් මෙම මහිමි සඳ
හිතවත් අයෙකු සැලසුම් කළ මහරු ලෙද
බලවත් පින්කමක් වළකනු ලැබුණි සොඳ

සුළුවෙන් කරනු මිස කිම වැය කරනු ගොඩක්
යනුවෙන් එයට හිමි නම නොම තැබුනි ඉඩක්
එනයින් සිදු කෙරුනි පව පිරි අමන වැඩක්
එබැවින් මිටි වුනා මෙම භවයෙහිදි අඩක්

සෙසු අය කරන පින්කම් ගැන තුටිනි මනා
ඇසු පමණකින් අත දිය යුතු සියලු දෙනා
මුසු කළ යුතු නොවේ අදහස් එරෙහි වනා
විසු මයි සුදුසු සැදැහෙන් පින් කරන දනා

ලකුණ්ටක තෙරිඳු සතු ඉවසන ගුණය
සඟුන් කෙරෙහි විය යුතු බව අර මුණය
බුදුන් හමුව පවසමු විය නිග මනය
ඔවුන් හට එකම සැනසුම බුදු බණය

ගල් පව්වක් සුළඟට නොම සෙල වේද
සිල් ගුණ පිරි සුදන මහමෙර මෙනි යෝද
සොල් වනු නොහැක නොගැටෙති නොකරති වාද
ඇල් මෙන් මැදහත්ව නිවසති නොව බේද

පැසසුම ගැරහුමද සම ලෙස සිතට ගෙන
මිතු දම රකින ඉවසන සුළු නැණැති දන
සැනසුම ලබති අට ලෝ දම හැඳින දැන
නිවනම පරම සුවයයි දෙසු මුනිඳු බණ

(ධම්ම පදය - පණ්ඩිත වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# හැමදා කළේ මේ ටිකමය
# ලොවෙහි සත...

රැකියා කරන ගේ දොර හදනා කැමැති
නොකියා කරන කටයුතු අහවර නොමැති
කකියා හදවතම තුන් ලොවටම පෙමැති
හැකියා විවිධ සත ඇත පොතු ජන නමැති

මොන ආගමේ ජාතියෙ ඉපදුනද සත
දැන හෝ නොදැන මුල් කරගෙන හදන හිත
කන බොන නිදන යනෙනා නෙක සියලු අත
දින දින ගියද පෙර ලෙසටම සිදුම වෙත

උදේ අහර ගෙන දහවල වෙන තෙක්ම
හදා ගෙන කන්නෙ මොනවද යන දැක්ම
නිදා ගෙන නැගිටියද එය නැත ඉක්ම
එදා රැයත් ගෙවෙනව නැත සිත හික්ම

පැය විසි හතරෙ කරනා දෙය විවිධ වුවත්
එය හෙට දිනත් සිදු වෙත නැත අමුතු පුවත්
බිය සැක මැදින් ගලනා දිවි දුකම දෙවත්
නිය දම මෙයයි ලෝ සත එය නොදැන දුවත්

පෙර කළ කීව දෑ අමතක වුනා මිස
අර ගෙන කරන්නෙත් දැන් පෙර තිබූ ලෙස
හර බර ලෙසට පෙනුනත් පෙර නොවූ රස
ජර මර වෙවී ඉපදීමකි නොවේ යස

දිවි කෙළවර දිනට විමසා බලන කල
තැවි තැවි හිටපු එක මිස තව කිමද ඵල
නොවිමස හිටියොතින් ලෝ තතු දහම තුල
ගෙවි යත දිවිය යළි දුකකට හදති බල

රවුමක විලස වන ඉපදුම සහ මරණ
සිවු අරි දහම වැටහෙන තෙක් සැරි සරන
අවුරුදු ගණන් ගිය මුත් තව තව කරන
දෙව් බඹ මනු අපා කම් පෙර ලෙස දරන

එකම දෙයකි ලොව හැමදා සිදු වන්නේ
දුකම පමණි අවසන අරගෙන යන්නේ
රැකම හිටිය මුත් සියතින් ගිලි හෙන්නේ
දැකම යළිත් අල්ලන්නට වෙහෙ සෙන්නේ

තුන් ලොව වුවත් ඒ ඒ තැන උරුම වන
අන්තිම මොහොත තෙක් විඳිනා එකම කුණ
සුන් වන විටදි එලොවින් තව එකක ගෙන
පින් පව් අනුව පෙර ලෙසටම හදති තැන

හැම දා කළේ මේ ටිකමය ලොවෙහි සත
බිම පා ගසන දුහුවිල්ලකි සිතිය යුත
නොම දේ කිසිදු හරයක් සැම ගෙවිල යත
නිම වේ නිවන් දුටු විට දුක යළිදු නැත

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1094 RS.25.00
HELA BODHU PIYUMA 94

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී